සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2561 ක් වූ බිනර මස (ව්‍යවහාරික වර්ෂ 2017 සැප්තැම්බර්)

72 වෙනි කලාපය




සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

රු. 25/-

# සමවතක සුව

ගහ කොළ සතා සිව්පාවා සමග　　බැඳී
මහ බික් සඟන දැහැනක සම වතක　　හිඳී
සහ සබැඳියාවෙන් සැනසිලි සුවය　　විඳී
යහ පත සදා ඇත දිවි යහ මගෙහි　　රැඳී

නිල් මහනෙල් මලක නිල් කටරොඩු　　මලක
පිල් විදු මොනර රැඟුමක කෝකිල　　හඬක
විල් තෙර රඟන මුව පොව්වෙකු සහ　　මවක
කුල් මත් කළ නොහැක සිත ඇත සම　　වතක

දිවියෙහි අනිසි බව දුක සහ අනත　　බව
මනසෙහි රැඳී ඇත පස්කඳ නිසරු　　බව
නැසුමෙහි අදිටනයි තිර ලෙස තිමිර　　භව
නිවනෙහි ඇත සදා නොමියන සොඳුරු　　බව

ගිහි ගෙය ගිනි ගොඩකි සමහරු කියති　　එසේ
දහි රිය කොද ඇලෙති මුත් කම් සුවෙහි　　රසේ
සිහි යයි ඇවැසි රා ගිනි දොස් එවිට　　නැසේ
එහි ඇති සුවය සැනසුම ගැන කියනු　　කෙසේ

හෙබි යහ ගුණය හිමි දෙසු අරි අටඟි　　මග
නොබි යව නතර කළ විට සිත කරන　　දඟ
පිබි දෙයි සිත දකී දහමෙහි ගුණය　　රඟ
අබි නික්මන තමා පිළිවෙත දහම　　අග

ඝෝර සසර දුක හමුවෙහි නොවන　　ගැතී
පාර මිතාවකි මෙය භව හුරුව　　ඇතී
නෑර මොහොත කුදු මෙම අදිටනෙහි　　එතී
සාර ගුණ දහම් පිරුමයි ඇවැසි　　නිතී

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා





# පෙළ දහමින් නිවන් මග 11

අද සමාජයේ බොහෝ දෙනෙක් පෙර අත්බැව් ගැන, එහෙම නැත්නම් මතු අත්බැව් ගැන අවිස්වාසයකින් පසු වෙනවා. ඒ ගැන විවිධ මතවලට බැහැගෙන ඉන්නවා. එහෙම එකක් තියෙනවද? පරලොවක් කොහෙන්ද?... මේ ආදී නොයෙක් මත. ලෝක සම්මතයේ බෞද්ධයන් අතර පවා මේ මතය බොහෝ කොටම තියෙනවා. ඉතින් එහෙම මතයක ඉන්න නිසාම බොහෝ දෙනෙක් බයක් සැකක් නැතිව නොයෙක් ආකාරයේ පාප දුෂ්චරිතවලට පෙළඹිලා තියෙනවා. ඕවා කරන්න එපා, කළොත් අපායෙ යනවා, එහෙම නැත්නම් දුගතියේ ඉපදෙනව කියල කිව්වොත්, කීයෙන් කීදෙනෙක් ඒක විස්වාස කරයිද? කෙලින්ම කියන දෙයක් තමයි, ඔය දිව්‍ය ලෝක අපාය සේරම මේ ලෝකයේමයි තියෙන්නෙ කියන මතය. මේ මත ඔක්කොම දස වස්තුක මිත්‍යා දෘෂ්ටියට අයිතියි.

ඉතින් මේ ලිපිය කියවන පින්වතුන්ටත් එහෙම දෙයක් හිතෙන්න පුළුවන්. දිව්‍ය ලෝක, අපාය දැකල නෑ තමයි. ඒත් විස්වාසයෙන් පිළිගන්න ක්‍රමයක් මේ බුද්ධ සාසනය තුල තියෙනවා. ඒකට අමූලිකා ශ්‍රද්ධාව කියලත් කියනවා. ඒ තමයි බුද්ධ සාසනය තුල තියෙන මූලිකම පඩිය. මේ ශ්‍රද්ධාව නැතුව ඉතුරු පඩි පෙළ නගින්න බෑ. අඩුම වචනවලින් කියනව නම්, මේ අමූලිකා ශ්‍රද්ධාව කියල කියන්නෙ මොකක්ද? "අපි ටිකක් අහල බලමු මේ හාමුදුරුවො මොනවද මේ කියන්නෙ කියල." අන්න ඒ වගේ සිතිවිලි මාත්‍රයක් තිබුනත් ඇති කවදහරි මේ නිවන් මාර්ගය පූර්ණ කරගන්න මූලික අඩිතාලම දාන්න. ඒ නිසා තමයි ලොව්තුරා බුදුන් වහන්සේ, බෞද්ධයෙක් වෙන්න අවශ්‍ය මූලික ධනයන්ගෙන් එකක් විදිහට ශ්‍රද්ධාව පෙන්නුවෙ. ඒකෙ මූලිකම අවධිය තමයි අමූලිකා ශ්‍රද්ධාව කියන්නෙ.

ලොව්තුරා බුදුන් වහන්සේගේ චුතූපපාත ඥානය ගැන අපි අහල තියෙනවා. දැන් බලන්න උන්වහන්සේ සතුව තිබුන මේ හැකියාවන්වලට අවසානයේ ඥානය කියල එකක් නිතරම එකතු වෙනවා. ඒ කියන්නෙ, උන්වහන්සේ යම් කිසි දෙයක් ආවට ගියාට කියන්නෙ නෑ. නුවණින් මෙනෙහි කරලමයි කියන්නෙ. ඉතින් එක්තරා අවස්ථාවක ලොව්තුරා බුදුන් වහන්සේ, අනේපිඬු සිටුතුමා පූජා කළ ආරාමයේ වැඩ ඉන්න මොහොතක භික්ෂූන් වහන්සේලා අමතල මෙහෙම කියනවා.

මහණෙනි, දොර සහිත වූ ගෘහ දෙකක් යම් සේද, එහි ඇස් ඇති පුරුෂයෙක් මැද සිටියේ ගෙට පිවිසෙන්නා වූද, ගෙන් නික්මෙන්නා වූද, ගෙයි ඇවිදින වූද, ඔබමොබ හැසිරෙන්නා වූද මිනිසුන් යම් සේ දකීද, එපරිදිම මහණෙනි, මම විසුද්ධ වූ මිනිසැස ඉක්ම සිටි දිවැසින්, චුත වන උපදනා හීන ප්‍රණීත දුර්වර්ණ සුගත දුර්ගත සත්ත්වයන් දකිමි. කම් වූ පරිදි මියගිය සත්ත්වයන් දැනගනිමි. (<u>දේවදූත සූත්‍රය</u> - මජ්ජිම නිකාය 3 - 385 පිටුව).

උන්වහන්සේ මෙතනදි විශේෂ වචනයක් භාවිතා කරනවා. ඒ තමයි, ඇස් ඇති පුරුෂයෙක් (තත්ථ චක්ඛුමා පුරිසො) කියන එක. ඉතින් ඇස් තියෙන්න ඕන පේන්න නම්. අන්ධයෙකුට කොහොම පේන්නද? උන්වහන්සේ ලොව්තුරා බුද්ධත්වයට පත්වුන විදිහ පස්වග මහණුන්ට දේශනා කරනකොට "චක්ඛුං උදපාදි" කියල විශේෂ වචනයක් භාවිතා කළා. ඒ කිව්වෙ, මට දහම් ඇස පහල වුනා කියන එක. එතනදිත් අදහස් කළේ, මෙතෙක් අවිද්‍යාවෙන් අන්ධ වෙලා හිටපු මට දැන් ඇත්ත පේන්න පටන් ගත්තා කියන එක, ලෝකයේ යථා ස්වභාවය දැනගත්තා කියන එක. එහෙම නැත්නම් යථාභූතං ඥාන දස්සනං කියල, මට ඇත්ත පේන්න අවශ්‍ය ඥානය ලැබුනා කියන එක. ඒ වගේම තමයි අපට නොපෙනෙන ලෝකය (මේ ගැන ලිපි පෙලක් පසුගිය කලාපවල පළ වෙලා තියෙනවා). අපට නොපෙනෙන කිව්වම, පේන අයත් ඉන්න ඕන. ඒ අයට අනුව අපි අන්ධයෝ. තමන්ට පේන්නෙ නැත්නම්, එහෙම පේන කෙනෙක්ගෙන් අහල විස්වාසයෙන් දැනගන්නව හැර වෙන ක්‍රමයක් නෑ. ඒ කෙනා ගැන විස්වාසය මුලින්ම ඇතිවෙන්න ඕන. ඒ විස්වාසය ඇති වෙන්න නම්, අපිට පේන දේවල්වල ඇත්ත තත්ත්වය පෙන්වල දීල තියෙන්න ඕන. මෙතනදිත් ලොව්තුරා බුදුන් වහන්සේ මේ ගැන කියපු දේ අනුව, අත්දැකීමෙන් අපිට ලැබිල තියෙන දේ අනුව, විස්වාසයෙන්, එහෙම නැත්නම් ශ්‍රද්ධාවෙන් පිළිගන්න ඕන.

උන්වහන්සේ භික්ෂූන් වහන්සේලාට උපමාවකින් කිව්වෙ මෙහෙමයි. ඇස් පේන මනුස්සයෙක් නගරයක් මැද්දෙ ඉන්න කොට පේනවා, එක එක ගෙවල්වලින් එළියට එන මිනිස්සු, නැවතත් වෙනත් ගෙවල්වලට යන මිනිස්සු, ඒ අතර මැද ඇවිදින මිනිස්සු. නගරයක් මැද්දෙන් යනකොට හෝ ඉන්න කොට අපිටත් ඒ වගේ අත්දැකීම් තියෙනවා. ඉතින් ලොව්තුරා බුදුන් වහන්සේ, මේ මියයන අය ඔය විදිහට තමන්ගෙ කර්මය අනුව එක එක අත්බැව්වලට යන හැටි තමයි ඒ විදිහට පෙන්නුවෙ. සමහරු සුගතියට යනවා, සමහරු දුගතියට යනවා, සමහරු අතරමැද (ගන්ධබ්බ හෙවත් සංජාතික අවස්ථාව) ඉන්නවා. ඔය ආකාරයට ලෝක සත්ත්වයා සසර ගමන යන හැටි භික්ෂූන් වහන්සේලාට පෙන්වල දුන්නා.

ඊට පස්සෙ උන්වහන්සේ විශේෂ තැනක් පෙන්නුවා. ඒ තමයි ☞

මරණින් මතු තමන් කළ කුසල අකුසල කර්ම විභාග කරල තීරණ දෙන තැනක් ගැන. ඒක විශේෂයක්. සමහරු කෙලින්ම තිරිසන් වෙනවා, ප්‍රේත වෙනවා, දෙවි වෙනවා, මනුස්ස වෙනවා... මේ ආදී වශයෙන් කිසිම බාහිර මැදිහත් වීමක් නැතුව ඒ ඒ තැන්වලට යනවා. නමුත් මෙතන පෙන්නුවෙ විභාග කරන තැනක් ගැන. හරියට උසාවියක් වගේ. වැරදි කරපු කෙනෙක්ව අල්ලගෙන ගිහින් තමන් කරපු වැරදි නිවැරදි බව අනුව ඒ කෙනාව හිරේ යවනවද, දඬුවම් කරනවද, එහෙම නැත්නම් නිදහස් කරනවද කියල තීරණ දෙන තැනක් වගේ. එහෙම වැරදි කරපු කෙනාව පොලිසියෙන් අල්ලගෙන ගිහින් උසාවියට දාල නඩු අහන්න මූලික වෙච්ච කෙනෙක් ඒ නඩුව අහල තීන්දුවක් දෙනව වගේ. නමුත් මේ ලෝකෙ වගේ නෙවෙයි, ඒ ලෝකෙ හරියටම සාධාරණව තීන්දුව ලැබෙනවා.

මහණෙනි, නිරය පාලයෝ ඒ සත්ත්වයා වෙන් වෙන් අත් ගෙන යම රජුට දක්වති. දේවයනි, මේ පුරුෂයා, මෑණියන් කෙරෙහි වරදවා පිළිපන්නෙක, පියාණන් කෙරෙහි වරදවා පිළිපන්නෙක, මහණුන් කෙරෙහි වරදවා පිළිපන්නෙක, ක්ෂීණාස්‍රව බමුණන් කෙරෙහි වරදවා පිළිපන්නෙක, කුලදෙටුවන් කෙරෙහි අපචායන නොකළ කෙනෙක. දේවයන් වහන්සේ මොහුට දඬුවම් පණවත්වයි. (දේව දූත සූත්‍රය - මජ්ඣිම නිකාය 3 - 385 පිටුව)

ඉතින් මේ ලෝකෙ පොලිස් නිලධාරීන් දෙන්නෙක් වරදකාරයව අත් දෙකෙන් අල්ලගෙන උසාවියට ගෙනියනව වගේ, මරණින් මත්තෙ අපායගාමී වුනාම, ඒකෙ ඉන්න නිරය පාලකයො, එහෙම නැත්නම් අපි දන්න යමපල්ලො කියන අය, අර වැරදි කරපු කෙනාව අත් දෙකෙන් අල්ලගෙන ඇදගෙන ඇවිත් ඒ අයගෙ රජතුමා, එහෙම නැත්නම් යම රජ්ජුරුවො කියන විනිශ්චය දෙන කෙනා ළඟට ඉදිරිපත් කරනවා. එතනදි මේ මැරුන කෙනා කරපු වැරදි එකින් එක කියල ඒ පුද්ගලයට දඬුවම් කරන්න කියල ඉල්ලා සිටිනවා. මෙතනදි මතක තියාගන්න ඕන දෙයක් තියෙනවා. වැරදි කරල මැරෙන හැමෝටම මෙහෙම අවස්ථාවක් එන්නෙ නෑ. බොහෝ අය කර්ම ශක්තිය අනුව කෙලින්ම අපාගත වෙනවා. එහෙම නැත්නම් සුගතියට යනවා. නමුත් සමහරු කරන වැරදිවල ස්වභාවය අනුව මේ වගේ යම ලෝකෙට වැටෙනවා. අපිට හරියටම කියන්න බෑ මොන මොන වැරදි කළාමද එහෙම තැනකට වැටෙන්නෙ කියල. නමුත් අනුමානයෙන් හිතන්න පුළුවන්, සමහරවිට තමන්ගෙ පාලනයෙන් තොරව, අනුන්ගෙ බල කිරීම පෙළඹවීම උඩ කරන වැරදි නිසා මෙතනට වැටෙනව කියල. එහෙම නැත්නම් හොඳ නරක දෙකම කරපු කෙනෙක් වෙන්නත් පුළුවන්.

උදාහරණයක් හැටියට කියනව නම්, අර යන මිනිහට දෙකක් ගහල වරෙන්, නැත්නම් තෝව මරනව කියල, ඊට වඩා බලවත් කෙනෙක් කියන්න පුළුවන්. හැබැයි ඇත්ත වශයෙන්ම ඒ මනුස්සයට ගහන්න හෝ බනින්න හෝ කරදරයක් කරන්න හෝ කිසිම උවමනාවක් නෑ. නමුත් තමන්ට වඩා බලවත් කෙනෙක් නිසා, මරණ බය හෝ තමන්ගෙ කෙනෙකුට හානියක් කරයි කියන බය නිසා අර වැරැද්ද කරන්න පුළුවන්. ඒකත් මරණින් මතු දුගතියකට වැටෙන්න පුළුවන් දෙයක්. නමුත් ඒක කළේ වෙන කෙනෙකුට බයෙන් හෝ බල කිරීම මත. එතකොට ඒ පුද්ගලය ළඟ ගුණ අගුණ දෙකම තිබිල තියෙනවා. එහෙම කෙනෙක් යම ලෝකෙට ගියාම තීරණයක් දෙන්න වෙනවා. ඒ නිසා ප්‍රශ්න අහල විනිශ්චයක් දෙන්න එන වෙලාවක් එනවා. එහෙම තැනක් ගැන තමයි මේ කියන්නෙ.

**මේ යම රජ්ජුරුවො කියන කෙනා අපි හිතන ජාතියේ කපපං, කොටපං කියල දඬුවම් දෙන කෙනෙක් නෙවෙයි. බොහොම කරුණාවෙන් ප්‍රශ්න අහල, ඒ අයට විසඳුමක් දෙන කෙනෙක් හැටියට තමයි ලොව්තුරා බුදුන් වහන්සේගෙ දේශනා අනුව පේන්නෙ.** ඉතින් මේ යම රජ්ජුරුවො ඒ අල්ලගෙන ආපු කෙනාගෙන් අහන ප්‍රශ්න ගැන තමයි මේ සූත්‍රයේ විග්‍රහ වෙන්නෙ.

මහණෙනි, යම රජ තුලුන් අතින් පළමු වන දේව දූතයා අනුයෝග වතට නංවා ප්‍රශ්න කරයි. ලබ්ධි පිහිටුවා ප්‍රශ්න කරයි. කරුණු විචාරයි. එම්බා පුරුෂය, තෝ මිනිසුන් කෙරෙහි ප්‍රථම දේව දූතයා පහළ වූවාහු නුදුටුයෙහිද? හේ මෙසේ කියයි, වහන්ස නුදුටිමි. මහණෙනි, යම රජ තුලුනට මෙසේ කියයි. එම්බා පුරුෂය, තෝ මිනිසුන් කෙරෙහි මන්ද වූ උඩුහුරු වැ හොවන සිය මළමූයෙහි ගැලුනු එහි හොවන ළදරු කුමරුවකු නුදුටුයෙහිද? හේ මෙසේ කියයි, වහන්ස, දිටිමි. මහණෙනි, යම රජු තුලුනට මෙසේ කියයි. එම්බා පුරුෂය, විඥ වූ වෘද්ධ වූ තට තෙල සිත් නො වී නුහු මයිත් ජාති ස්වභාව ඇතියෙමි, ජාතිය නොඉක්ම ගියෙමි, එබැවින් මම කයින් වදනින් මනසින් පින් කෙරෙමියි කියයි. හේ මෙසේ කියයි. වහන්ස, නොහැකි වීමි, වහන්ස, පමා වීමි. මහණෙනි, යම රජු තුලුනට කියයි, එම්බා පුරුෂය, පමා වූ බැවින් කයින් වදනින් මනසින් පින් නොකෙළෙහි යැ. එම්බා පුරුෂය, එයින් පමා වූවනට කරන්නාක් සෙයි තට දඬුවම් කෙරෙති. තාගේ තෙල පාප කර්මය මව විසින් නොකරන ලද, පියා විසින් නොකරන ලද, බෑයා විසින් නොකරන ලද, බුහුන විසින් නොකරන ලද, මිත්‍රාමාත්‍යයන් විසින් නොකරන ලද, නෑ සහ ලේ නෑයන් විසින් නොකරන ලද, මහණ බමුණන් විසින් නොකරන ලද, දෙවියන් විසින් නොකරන ලද, තා විසින් මැ තෙල පාප කර්මය කරන ලද, තෝමැ තෙල පාප කර්මයාගේ විපාකය විඳිනෙහි යැ. (දේවදූත සූත්‍රය - මජ්ඣිම නිකාය 3 - 387 පිටුව)

යම රජ්ජුරුවො කොහොම කෙනෙක්ද කියල මේ ප්‍රශ්නය අනුව වැටහෙනවා. අර ආපු කෙනාට දඬුවම් කරන්න කලින් මතක් කරල දෙනවා, පොඩි හෝ පිනක් උඹ කරගත්තෙ නැද්ද කියල. ජීවිතේ ඉන්න කොට දේව දූතයෙක්ව දැක්කෙ නැද්ද කියල අහනවා. ඉතින් අර අපාගාමී වුන කෙනා මේ දේව දූතයා ගැන දන්නෙ නෑ. ඒ නිසා, අනේ එහෙම කෙනෙක් දැක්කෙ නෑනෙ කියල තමයි කියන්න වෙන්නෙ. දේව දූතයෙක් කියල අදහස් කළේ තමන්ට හොඳක් කරන්න එන කෙනෙක් ගැන. එහෙම කෙනෙක් දැකල තියෙනවද කියලයි අහන්නෙ. කවුද එහෙම ආපු දේව දූතයා කියල උඩ බිම බැලුවම තමයි මතක් කරල දෙන්නෙ, දැකල තියෙනවද තමන්ගෙම අසූචි ගොඩේ හරි මූත්‍රා ගොඩේ හරි කිසි දෙයක් තනිව කර කියා ගන්න බැරි පොඩි ළදරුවො කියල. ඉතින්, ඔව් මම එහෙම අය නම් ඕන තරම් දැකල තියෙනවා කියල උත්තර දෙනවා.

දැන් ප්‍රශ්නයක් එනවා, මේ පොඩි ළදරුවා කොහොමද දේව දූතයෙක් වුනේ කියල. නැවත මතක් කරල දෙනවා, මෙච්චර වයසට ගිය උඹට හිතුනෙ නැද්ද, මමත් ආයෙ ඉපදෙනවා, ඔය ඉපැද්දුම ඉක්මවපු කෙනෙක් නෙවෙයි

මම, එහෙම වෙච්ච මම කොහොම කොහේ ඉපදෙයිද දන්නෙ නෑ, ඒ නිසා දැන් දැන්ම පිනක් කරගන්න ඕන කියල. ඉතින් අර මනුස්සයට එතකොටයි ඒක මතක් වෙන්නෙ. මතක් වෙලා කියනවා, ඔව් මම පමා වුනා, එහෙම දැකලත් මට හිතුනෙ නෑ පිනක් දහමක් කරගන්න කියල. ඉතින් නැවතත් යම රජ්ජුරුවො පෙන්වා දෙනවා, ඔය උඹ කරපු පව් එකක්වත් තමන්ගෙ අම්ම කරපුවත් නෙවෙයි, තාත්ත කරපුවත් නෙවෙයි, අඹු දරුවො කරපුවත් නෙවෙයි, නෑදෑයො මිත්‍රයො කරපුවත් නෙවෙයි, මහණ බමුණන් කරපුවත් නෙවෙයි, ඒ සේරම උඹම කරගත්ත ඒවා, ඒ නිසා ඒ කරපු පව්වලට විපාක උඹම ගෙවන්න ඕන කියල.

ඊට පස්සෙ ඔය විදිහටම දෙවැනි දේව දූතයා ගැන ප්‍රශ්න අහනවා. ආයෙත් අර අපාගත වුන කෙනා උඩබිම බලනවා, කවුද මේ දෙවනි දේව දූතයා කියල. යම රජ්ජුරුවො නැවත මතක් කරල දෙනවා. උඹ දැකල නැත්ද කෙස් පැහිච්ච, කුදු වෙච්ච, හැරමිටියෙන් හරි අමාරුවෙන් යන, වයසට ගිහින් ඉන්න ගෑනු පිරිමි අය. ඒ අයට කිසි දෙයක් කර කියා ගන්න බැරිව ඉන්නවා. කාගෙන් හරි උදව්වක් උපකාරයක් නැතුව කිසි දෙයක් තනිව කරගන්න බැරිව ඉන්නවා. ඔව්, මම එහෙම අය ඕන තරම් දැකල තියෙනව කියල අර අපාගත වුන කෙනා කියනවා. නැවතත් යම රජ්ජුරුවො අහනවා, එතකොටවත් උඹට හිතුනෙ නැත්ද, ජරාව ඉක්මවපු නැති මමත් මේ තත්ත්වෙට පත්වෙන්න පුළුවන්, මමත් කවදහරි මෙතනට වැටෙනවා, එතකොටවත් පිනක් දහමක් කරගන්න ඕන කියල. අර පරණ විදිහටම අපාගත වුන කෙනා කියනවා, ඔව් එතකොටවත් මට එහෙම සිතින් කයින් වචනයෙන් පිනක් දහමක් කරගන්න බැරි වුනා, මම පමා වුනා කියල. ඉතින් නැවතත් යම රජ්ජුරුවො පෙන්වා දෙනවා, ඔය උඹ කරපු පව් එකක්වත් තමන්ගෙ අම්ම කරපුවත් නෙවෙයි, තාත්ත කරපුවත් නෙවෙයි, අඹු දරුවො කරපුවත් නෙවෙයි, නෑදෑයො මිත්‍රයො කරපුවත් නෙවෙයි, මහණ බමුණන් කරපුවත් නෙවෙයි, ඒ සේරම උඹම කරගත්ත ඒවා, ඒ නිසා ඒ කරපු පව්වලට විපාක උඹම ගෙවන්න ඕන කියල.

ඉතින් ඔය විදිහට දෙවැනි දේව දූතයත් මතක් කරල දීල, තුන්වෙනි දේව දූතයා ගැනත් ප්‍රශ්න කරනවා. මිනිසුන් අතර හිටිය තුන්වෙනි දේව දූතයෙක් උඹ දැකල තියෙනවද කියල තමයි අහන්නෙ. ඒ අපාගත වුන කෙනා නැවතත් උඩබිම බලනවා කවුද මේ තුන්වෙනි දේව දූතය කියල. නැවතත් යම රජ්ජුරුවො මතක් කරල දෙනවා. උඹ දැකල තියෙනවද ලෙඩ වෙච්ච මිනිස්සු, නොයෙක් ලෙඩ රෝගවලින් පීඩා විඳින මිනිස්සු? දූන් නැවතත් අර අපාගත වුන කෙනා කියනවා, ඔව් මම දැකල තියෙනවා කියල. උඹට එතකොටවත් හිතුනෙ නැත්ද, මාත් එහෙම ලෙඩ වෙන කයක් අරගෙන උපන් කෙනෙක්, ඕනම මොහොතක ඔය ජාතියේ ලෙඩකට දුකකට ගොදුරු වෙන්න පුළුවන්, එහෙම දෙයක් ඉක්මවපු කෙනෙක් නෙවෙයි මම, වහ වහා සිතින් කයින් වචනයෙන් පින් දහම් කරන්න ඕන කියල හිතුනෙ නැත්ද කියල නැවතත් යම රජ්ජුරුවො අහනවා. අනේ නෑ ස්වාමීනි, එතකොටවත් මට එහෙම හිතුනෙ නෑ, මම ප්‍රමාද වුනා කියල අර අපාගත වුන කෙනා කියනවා. ඉතින් නැවතත්, ඔය උඹ කරපු පව් එකක්වත් තමන්ගෙ අම්ම කරපුවත් නෙවෙයි, තාත්ත කරපුවත් නෙවෙයි, අඹු දරුවො කරපුවත් නෙවෙයි, නෑදෑයො මිත්‍රයො කරපුවත් නෙවෙයි, මහණ බමුණන් කරපුවත් නෙවෙයි, ඒ සේරම උඹම කරගත්ත ඒවා, ඒ නිසා ඒ කරපු පව්වලට විපාක උඹම ගෙවන්න ඕන කියල යම රජ්ජුරුවො පෙන්වල දෙනවා.











ඔය විදිහට තුන්වෙනි දේව දූතයත් පෙන්වල මතක් කරල දීල, හතරවෙනි දේව දූතයා දැකල තියෙනවද කියල අහනවා. අර අපාගත වුන කෙනා පුරුදු උත්තරේමයි දෙන්නෙ, අනේ නෑ මම එහෙම දැකල නෑ කියල. යම රජ්ජුරුවො අහනවා, යම් අපරාධයක් කරල අහුවුන කෙනෙක් දඬුවම් විඳිනව උඹ දැකල තියෙනවද කියල. අනේ ඔව් කස පාර දිදී, වද දිදී ගෙනියන හොරුන් මංකොල්ලකාරයන් අපරාධකාරයන් මම දැකල තියෙනව කියල කියනවා. යම රජ්ජුරුවො අහනවා, එතකොටවත් උඹට හිතුනෙ නැත්ද මෙහෙම අපරාධ කරපු කෙනෙක් මෙලොවදීම මෙහෙම දුක් විඳිනවා, පරලොව ගැන කවර කතාද කියල. මම ඉක්මනටම සිතින් කයින් වචනයෙන් පින් දහම් කරන්න ඕන කියල එතකොටවත් හිතුනෙ නැත්ද කියල යම රජ්ජුරුවො අහනවා. අනේ නෑ ස්වාමීනි,

එතකොටවත් මට එහෙම හිතුනෙ නෑ, මම ප්‍රමාද වුනා කියල අර අපාගත වුන කෙනා උත්තර දෙනවා. ඉතින් නැවතත් යම රජ්ජුරුවො කියනවා, ඔය උඹ කරපු පව් එකක්වත් තමන්ගෙ අම්ම කරපුවත් නෙවෙයි, තාත්ත කරපුවත් නෙවෙයි, අඹු දරුවො කරපුවත් නෙවෙයි, නෑදැයො මිත්‍රයො කරපුවත් නෙවෙයි, මහණ බමුණන් කරපුවත් නෙවෙයි, ඒ සේරම උඹම කරගත්ත ඒවා, ඒ නිසා ඒ කරපු පව්වලට විපාක උඹම ගෙවන්න ඕන කියල.

ඉතින් ඔය විදිහට හතරවන දේව දූතයත් පෙන්වල දීල යම රජ්ජුරුවො අවසාන වශයෙන් අහනවා, උඹ පස්වෙනි දේව දූතයා දැකල තියෙනවද කියල. අපාගත වුන කෙනාගෙ සුපුරුදු උත්තරේ තමයි, අනේ මම එහෙම කෙනෙක් දැකල නෑ කියන එක. එතකොට අහනවා, උඹ දැකල නැත්ද මළගිය කෙනෙක්, එහෙම නැත්නම් මැරිල දවස් දෙක තුනක් ගිහින් කුණු වෙලා ඉදිමුන කෙනෙක්. ඔහොම මැරිල දිරාපත් වුන කෙනෙක් දැකල තියෙනවද කියල අහනවා. ඉතින් අපාගත වුන කෙනා කියනවා, ඔව් මම ඕන තරම් දැකල තියෙනවා කියල. නැවතත් යම රජ්ජුරුවො අහනවා, උඹට එතකොටවත් හිතුනෙ නැත්ද මමත් එහෙම ඕනම වෙලාවක මැරෙන්න පුළුවන් කෙනෙක්, එහෙම මරණ ඉක්මවපු කෙනෙක් නෙවෙයි, මමත් ඉක්මනින්ම සිතින් කයින් වචනයෙන් පින් දහම් කරන්න ඕන කියල. අනේ නෑ ස්වාමීනි, එතකොටවත් මට එහෙම හිතුනෙ නෑ, මම ප්‍රමාද වුනා කියල උත්තර දෙනවා. ඉතින් නැවතත් යම රජ්ජුරුවො පෙන්වා දෙනවා, ඔය උඹ කරපු පව් එකක්වත් තමන්ගෙ අම්ම කරපුවත් නෙවෙයි, තාත්ත කරපුවත් නෙවෙයි, අඹු දරුවො කරපුවත් නෙවෙයි, නෑදැයො මිත්‍රයො කරපුවත් නෙවෙයි, මහණ බමුණන් කරපුවත් නෙවෙයි, ඒ සේරම උඹම කරගත්ත ඒවා, ඒ නිසා ඒ කරපු පව්වලට විපාක උඹම ගෙවන්න ඕන කියල.

ඉතින් ඔහොම පෙන්වල දීල, කිසිම පින්කමක් මනසට එන්නෙ නැත්නම් මේ අපාගත වුන පුද්ගලයට දඬුවම් නියම කරනවා. එහෙම දඬුවම් දෙන විදිහ, ඒ තැන්වල දුක්ඛිත තත්වය මේ සූත්‍රය පුරාම විග්‍රහ කරල තියෙනවා. ඉතින් මේකෙන් අපි දැනගත යුතු කාරණයක් තියෙනවා. අපි දැනටත් ප්‍රමාද නෑ. මේ දේව දූතයො පස්දෙනා අපි ඉදිරියේ නිතරම ඉන්නවා. ඒ හැම මොහොතකම මටත් එහෙම වෙන්න පුළුවන්, මොකට කෙනෙකුට අවැඩක් අසාධාරණයක් කරනවද කියල ඉක්මනින්ම ඒ වගේ පාපයන්ගෙන් වැළකෙන්න පුළුවන්. ඒ වගේම කරපු පිනක් කුසලයක් තියෙනව නම්, පෙර අත්බැව්වල දැන හෝ නොදැන කරපු අවැඩ අසාධාරණකම්වලට ඒ අයට අනුමෝදන් කරල වන්දි ගෙවන්න පුළුවන්. ඒ වගේම මතක තියාගන්න ඕන කාරණය තමයි, ඕනම වෙලාවක පැවැත්මක් තුල ඉන්න අපට අතපසු වීමක් වෙන්න පුළුවන්. ඒ සුළු හෝ අතපසු වීමකින් මහා දුකක් විඳින තැනකට වැටෙන්න පුළුවන්. ඒ නිසා පැවැත්ම නම් කීයටවත් වර්ණනා කරන්න නරකයි. ලෝකයේ පැවැත්ම හොඳයි, වටිනව කියල ගන්න නරකයි. පුළුවන් තරම් මිදෙන පැත්තටමයි උත්සාහ කළ යුත්තෙ.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් නැවත මතු කරන ලද සැඟවුනු දහම් කරුණුද සමගින් දේව දූත සූත්‍රය (මජ්ඣිම නිකාය 3) ඇසුරෙන් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු**
**ගොතටුව**
**076-3446839**



# පින් හා කුසල් පටලවාගෙන මගඵල යැයි රැවටුණු ලෞකික තත්ත්වයන්...

ලෝක සත්ත්වයා ප්‍රිය මධුර බවේ තියෙන ආස්වාදය හෙවත් සැප නමැති මායාවට වසඟ වෙලා, කාමයේ බලවත්ව ඇලෙමින් ජීවත් වෙනකොට, ඒවාට යෙදෙන අනේකප්‍රකාර අන්තරාවන් සහ විරුද්ධතාවන් කෙරෙහි දූෂ්‍ය වෙලා ගැටෙමින් දූවෙමින් සත්‍ය දර්ශනයට සිත හකුළනවා. එතකොට නියම සුවය විදිහට ඔවුන් ගන්නෙ ළඟම තියෙන කාම සුවය. නමුත් කරුණු කාරණා තමන් හිතපු විදිහට ඉටු නොවන නිසා, නොසන්සුන්ව පසුතැවීමෙන්, මුළාව නිසා ඇති තතු වැහිල ගිහින්, සත්‍ය මාර්ගය හෙවත් නිදහස් නිවන් මාවත සැක කරමින් දූෂ්‍ය ගති ගොඩගහගෙන ජීවිතය ගෙනි යනවා. මේ ගතිවලට වහල් වෙලා යට වෙලා ඉන්න කෙනෙක් යථාවබෝධයට යොමු වීම, ඊට හිත යොමු කිරීම, යථාවබෝධයේ පිහිටීම කියන කාරණාවන් වෙන්නෙ නෑ. නමුත් සසර පින් කළ අයට ඒ පුණ්‍ය කර්ම ශක්තියෙන් නැගිල එන ධර්මතාවන් නිසා හොඳ අරමුණු නැගිල එන අවස්ථා සහජයෙන්ම උරුම වෙනවා.

ඒ කියන්නෙ ත්‍රිහේතුක (අලෝභ, අද්වේශ, අමෝහ කුසලයක විපාක සිතකින් උපන්නෙකු වීම) සිත්වලින් උපන් අයට භවාංග සිත නිසා සහජයෙන්ම ඊට අනුරූප හොඳ ගති කියල දෙයක් ලැබෙනවා. පොඩි කාලයේ ඉඳන්ම ගුණ යහපත් උදවිය කියල හඳුන්වන්නෙ මේ වගේ අයට. ඒ තමයි භවාංග සිතෙන් උපදින ගතිය. මේ අය පසු කාලයකදි වාසය කරන ප්‍රදේශ, ඇසුරු කරන අය ආදිය හේතුවෙන්, අර තිබ්බ්ච හොඳ ගතිය වහගෙන, මැණිකක් කහටවලින් වැහිල තියෙනකොට දිලිසෙන ගතිය නැතිවෙලා නිකම්ම ගලක් විදිහට දිස්වෙනව වගේ පෙනෙන අවස්ථාත් තියෙනවා. ඒ අයට පින්වන්ත අරමුණු දකින කොට, ඒවා ඇසුරු කරන කොට මුලින් උපන් හිතේ ගතිය මතු වෙලා පිරිසිදු තත්ත්වය මතුවෙනවා. සම්බුද්ධ සාසනය විද්‍යමාන වන කාලවල ඇසුරු කරන්න ලැබුනොත් සැනසීමට අවස්ථාව පැදෙනවා. එහෙම අවස්ථාව ලැබෙන්නෙත් බුද්ධ සාසනයේ පින් කරල ඊට අදාළ හේතු ගොඩනගල තිබ්බ්ච අයට. රාගයෙන්, ද්වේශයෙන්, මෝහයෙන් තොර බුදු රජාණන් වහන්සේගේ, ධර්ම රත්නයේ, සංඝ රත්නයේ ගුණ සිහි වෙනකොට ඒ අයට මහත් ප්‍රබෝධයක් හට ගන්නවා. පැදුන වතුරට බොර කඳුළක් වැටුණත් විශේෂයෙන් පේනව වගේ, එතෙක් දුක වහගෙන හිටපු මෝහය අතුරුදන් වෙමින් ඒ සියලු දුක් කන්දරාව පේන්න පටන් ගන්නවා. ඒවා ගිනි මෙන් වැටහෙනවා. හරි මග හෙවත් නිවීමේ මග මේ මහා ගුණවතුන් අතරෙ මිසක් වෙන තැනක නැති බවත් වැටහෙනවා.

ඒ තුනුරුවන් ඇසුරේ පවතින නිරාමිස සුවය, සංසිඳීමේ සුවය, ගිනි නැති ස්වභාවය වැටහෙනවා. සිත ඒ ඇසුරට වැටෙනවා. එතකොට පුණ්‍ය සංඛාර විදිහට, ඒ නාම රූප ඒ පින් සිත්වලට ඇතුල් වෙලා පින් සිත් බලවත් වෙනවා. ඒ වෙලාවෙදි පෙර සසර කරල තියෙන පින් බලය, කුසල් බලය ක්‍රමයෙන් පින් සහ කුසල් විපාක ශක්තියෙන් ඒ සිතට අරමුණු දෙමින් ඇදිල එනවා. ඒ ආකාරයෙන් දැන් ලැබෙන නාම රූපත්, පෙර අරමුණුවලින් මතු කළ නාම රූපත්, කර්ම ශක්තියෙන් සහ අන්‍ය හේතු ප්‍රත්‍යයන්ගෙන් අභ්‍යන්තර බාහිර ආයතන සකස් කිරීමත් නිසා, බලවත් වෙමින් පුණ්‍ය සහ කුසල විඤ්ඤාණ පහල කරමින් ආයතන විදිහට ඉන්ද්‍රියන් හය තුළ ක්‍රියාත්මක වෙමින් නැගී සිටිනවා. ඒ නිරාමිස දහම් ඇසුරට සිත වැටෙනවා. ඇසුරු කරනවා. නිරාමිස සුවය දූනෙනවා. තව තවත් ඇසුරු කරනවා. ඇසුරෙදි විඤ්ඤාණ පරම්පරාව බලවත් වෙමින් පහල වෙනවා. බලවත් වෙච්ච විඤ්ඤාණ මනෝ රූප මවමින් ඒ ගතියට අනුරූප දේ පෙන්වමින්, ඒ ගුණවල හිත තදින් බඳිමින් ගුණවතෙක්, නැණවතෙක් බවට පත් කරනවා. "විඤ්ඤාණ පච්චයා නාමරූපං - නාම රූප පච්චයා සලායතනං" කියන සිද්ධාන්තය මේ විදිහට ක්‍රියාත්මක වෙනකොට ඇතිවෙන ප්‍රතිඵල රටාව සසර ගිනි වටහල දෙනවා.

මේ විදිහට ගිනි වැටහුන අයට නිවිය යුතු සසර ගිනි පේනවා. නිවෙන කොට පවතින සුවය, නිරෝධය අනුමාන ඥානයෙන්, නැත්නම් ශ්‍රද්ධාවෙන් වැටහෙන්න පටන් ගන්නවා. පළමු නිවන් දකින හේතුව මේ ආකාරයෙන් විද්‍යමාන වෙනවා. මීට පෙර පෙන්වපු විදිහට දරුවන්ගේ දුසිරිත්, ඇනුම් බැනුම්, හරිහම්බ කරන්න ගිහින් විඳපු වෙහෙස... යනාදිය පිළිබඳව ඒ අයට දුක කියල වැටහිලා තියෙන්නෙ, තදබල විදිහට ආසාවන් තිබුනත් ඒවා විඳගන්න නොලැබෙන නිසා ඇතිවෙන දාහය මිසක් දුක්ඛ ආර්ය සත්‍යය නොවන බවත් දූනගත යුතුයි. මොකද ඔය කියන ඒවා දුක්ඛ ආර්ය සත්‍යය විදිහට ගත්තොත්, ඒවා ලෝක සම්මතයේ ඉන්න අන්‍යාගමික පිංවතුන්ට පවා මුහුණ දෙන සිද්ධ වෙන දේවල්.
එහෙනම් ඒ අයත් චතුරාර්ය

සත්‍යය දකල තියෙන්න ඕන. නමුත් ඒක එහෙම වෙලා නෑ.

දන් පින් සහ කුසල්වල තතු පැහැදිලි කරගත යුතුයි. පින් කියන්නෙ සසර තුළ ලෝභ, ද්වේශ, මෝහයන්ගෙන් තොර වුනාම ඇතිවෙන ගිනි ගතිය නිවීමෙන් එන සහනය සහිත පිනවන ස්වභාවය. මෙතනදි දනගත යුතු කාරණයක් තියෙනවා. ඒ කියන්නෙ ලෝභය හා ද්වේශය සමග යෙදෙන මෝහය (ලෝභ - මෝහ සහ ද්වේශ - මෝහ) විදිහට යෙදෙන්නෙත් අවිද්‍යාවේම අඳුරු මුළා කොටස. ඒකත් ලෝභ චෛතසිකය සහ ද්වේශ චෛතසිකය සමග යෙදුන කොටසක්මයි. නමුත් මෙතන කොටස් දෙකක් තියෙන බව පේනවා. ඒ පින් සිත්වල යෙදෙන කොටසක් සහ පව් සිත්වල යෙදෙන කොටසක් විදිහට. **පව් සිත්වල ලෝභ කොටසත්, අවිද්‍යා කොටසත් කියන දෙකම තියෙනවා. පින් සිත්වලදි ලෝභ කොටස නිදි, අවිද්‍යා කොටස අවදිව තියෙනවා.** සිත්වල යෙදෙන මේ චෛතසික අනුව බලනකොට ලෝභ චෛතසිකය පව් සිත්වල මිසක් පින් සිත්වල නැති බව පෙන්වා තියෙනවා. අවිද්‍යාව පින්, පව් සිත් දෙකේම තියෙන බවත් පෙන්වා තියෙනවා. නමුත් අවිද්‍යාව කියල වෙනම චෛතසිකයක් නෑ. ලෝභ කියන කොටසට අවිද්‍යාවත් එකතු කරල පෙන්වා තියෙන බව පේනවා. ඒකට හේතුව ලෝභයේ මූල ධාතුව අවිද්‍යාව නිසා. මේ මූල ධාතුවෙන් සකස් කළාම ලෝභ සංඛාර වෙනවා. මේ විදිහට ලෝභ, ද්වේශ, මෝහ නැති තැන විද්‍යමාන වන පැහැදීම හෙවත් ප්‍රිය මධුර ස්වභාවය තුළ ඇති වෙන පිනා යන ස්වභාවයට පින් කියල කියනවා.

එහෙනම් කුසල් කියන්නෙ පින්ද? "කු" කියන්නෙ පහත් වූ ක්‍ෂය වන දේවල්වලට. "තුච්ච වූ නින්දිත වූ පාප ධර්ම සලාහරින නිසා කුසල නම් වෙනවා" කියන කාරණාව බොහෝ කොට අද වැරදි ආකල්පයකින් තේරුම් අරගෙන තියෙන බව පෙනී යනවා. ඒකෙත් සත්‍යයක් තියෙනවා. බුද්ධ වචනය අනුව නම්, **පින් සහ කුසල් නිසා පහල වෙන ලෞකිකත්වය සලා නොහරින කල් නිවන් ලබන්න බැරි නිසා ඒකත් සත්‍යයක්.** නමුත් අද බොහෝ කොට තේරුම් අරගෙන තියෙන්නෙ ලෝක සම්මත වූ පින් කියන කොටස නෙවෙයි, පව් කියන කොටස සලා හැරීම කුසල විදිහට. නමුත් බුද්ධ භාෂිතය නම් දිව්‍ය කෝෂ, බ්‍රහ්ම කෝෂ, මනුස්ස කෝෂ, සකලවිධ කර්ම කෝෂ පිරිසිඳ දන (ප්‍රියභාවය සිඳ) ඊට මූල බන්ධන වූ අවිද්‍යා තෘෂ්ණා භව තෘෂ්ණාදියෙන් මුක්ත වීමට කුසල කියල කියන බව "කෝෂානි විචෙයිය කේවලානී-දිබ්බං මානුෂ කංච බ්‍රහ්ම කෝෂං - සබ්බ මූල කෝෂ කුසලෝතාදී පවුජ්ජතෝ තථත්තා බන්ධනා පමුත්තෝ කුසලාතාදී පවුච්චතෝ තථත්තා" කියල මේ කාරණය පැහැදිලි කරල තියෙනවා.

ඒ නිසා ආර්ය කුසලය වැඩෙන්නෙ බුද්ධ සාසනයේ ආර්ය අෂ්ටාංගික මාර්ගය තුළින් පමණයි. ඒ මග පින් මග නෙවෙයි. නමුත් මේකත් වරදවා තේරුම් අරගෙන, පින් කිරීම නිවනට බාධාවක්, ඒ නිසා පින් නොකළ යුතුයි කියල වැරදියට තේරුම් නොගත යුතුයි. "සුමනාවනි දන් දිය යුතුමය, පින් කළ යුතුමය, දෙවි වූවන්ටත්, මිනිස් වූවන්ටත්, ශ්‍රමණ වූවන්ටත්, ශ්‍රමණයෝ වන්නත්, බ්‍රාහ්මණයෝ වන්නත්, ශ්‍රමණයො වී නිවන් අවබෝධ කර ගන්නත් පින උපකාරී වේ." මේ විදිහට සුමනා සූත්‍රයේ දේශනා කරල තියෙන්නෙ මොකක්ද කියලත් තේරුම් ගත යුතුයි. (අංගුත්තර නිකාය 3 - 50 පිටුව).

ආයුෂ, වර්ණය, සැපය, බලය, පටිභාන නුවණ කියන මේවාත් නිවන් දකීමට අවශ්‍යයි. මේවා ලැබෙන්නෙ දන් දීමෙන් ලැබෙන පුණ්‍ය විපාකයෙන්. ඒ නිසා **පින නිවනට බාධාවක් නෙවෙයි. එහෙම බාධාවක් වුණා නම් සීවලී මහ රහතන් වහන්සේ නිවන් දක්කෙ කොහොමද?** උන්වහන්සේගෙ පෙර පුණ්‍ය මහිමය නිසා මේ අත්භවයෙදි මහා ලැබීමේ පුණ්‍ය විපාකයක් තිබුණා. නමුත් ඒක නිවනට බාධාවක් වුණේ නෑ. උන්වහන්සේ අරිහත්වයට පත්වෙලා පිරිනිවන් පෑවා. ඒ නිසා **නිවනට බාධා වෙන්නෙ පින් කිරීම නෙවෙයි, පින් කිරීමෙන් යමෙක් ලෞකික වූ සැප සම්පත් බලාපොරොත්තු වෙනව නම්, ඒ බලාපොරොත්තුවෙන් පින් කරනව නම් ඒක බාධාවක්.**

යමෙකුට පංච නීවරණ සහිතව පව් සිත් පරම්පරාවක් ඇත්නම්, ඒ පව් සිතක පුණ්‍ය චෛතසිකයක් නොයෙදෙන නිසා, පව් සිත නැගුනු වෙලාවක පිනට සම්බන්ධ ක්‍රියාවක් කරගෙන ගියත් ඒක නිකං ක්‍රියාවක් විතරයි. යමෙක් ලෝභ ගතියෙන්, ද්වේශ ගතියෙන් ඉන්න කොට බුදුන් වැන්දත්, භාවනා කරන්න උත්සාහ කළත්, පොඩි එවුන් වැඩිපුර කැමති පැණි රස දෙයක් තමන්ට නොදුන්නම, පළිගන්න, එහෙම නැත්නම් දීපු ටිකත් විසිකරල දාල පැත්තකට වෙලා කතා නොකර බුම්මගෙන ඉන්නව වගේ, ඒ පුද්ගලයත් කලකිරීම් ඇති කරගෙන මෙහෙම කියනවා. "හොඳ වැඩක් කරන්නම්කො. මම ගෙදර නැති වුනාම මගේ වටිනකම තේරෙයි. බල බලා සේරම වැඩ කරන නිසා තමයි මේ හැම එකෙක්ම මගේ ඔළුවට අත හෝදන්න එන්නෙ. හෙට පෝයට මම යනව සිල් ගන්න. එන්නෙ නෑ පැත්ත පළාතකටවත්, ඕන විදිහකට කර ගතිල්ලකෝ" දන් මෙහෙම කියල හිතාගෙන සිල් ගන්න ගියා නම්, භාවනා කරන්න ගියා නම්, ඔහුට හෝ ඇයට ඇතිවෙලා තියෙන්නෙ පළිගැනීමේ පාපී සිත් පරම්පරාවක් බව තේරුම් ගන්න ඕන. ඒ වගේ වෙලාවකට බුදුන් වහන්සේ නමක් බණ කිව්වත්, අහන බණ හිතේ රඳා පවතින්නෙ නෑ. කොච්චර මල් පූජ කළත් ඒවා ක්‍රියාවන් විතරයි. භාවනා කළත් ඉරියව් පැවැත්වීමක් විතරයි. පිනක්, කුසලයක් නෙවෙයි. දේව ගතිය, මනුස්ස ගතිය යමෙකුට ඇති වෙච්ච අවස්ථාවක් තියේනම්, ඒ පින් සිත් ඇති වෙච්ච වෙලාවක්. දෙවියන්ටත් මනුස්සයන්ටත් සාස්තෘ කෘත්‍යය කරන බුද්ධ දේශනාව ඒ සිත්වලට ගෝචර වෙනවා. නමුත් දේව මනුස්ස ගතියෙදි පහල වෙන ඇස්වල හැටියට තමයි පෙනීම ඇති වෙන්නෙ. එහෙනම් ඇස් මොනවද? පෙනෙන ආකාර කොහොමද?

1. මස් ලේ ඇස
2. දිවැස
3. මනැස
4. නැණැස
5. පැනැස

මෙයින් මස් ලේ ඇහැට සතර මහා භූතයන්ගෙන් නිර්මිත භාවයන්ගේ දකීම් වශයෙන් හඳුනා ගැනීම අයිති වෙනවා. ඒ තමයි මස් ලේ ඇසින් දකීම. දිවැස කියන්නෙ ඒ සතර මහා භූතයන්ගේ තද - සියුම්, දුර - ළඟ තියෙන දේ පිළිබඳව රූප, මස් ලේ ඇසින් වගේ පෙනෙන බව. මනැස කියන්නෙ අභ්‍යන්තර නාම රූපයන් සිතින් මවල බලන, තමන්ට ආවේණික වූ මනෝ ලෝකය දකින ඇස. නැණැස කියන්නෙ සත්‍යය සත්‍යාකාරයෙන්, අනුමානයෙන් දකින නුවණ. පැනැස කියන්නෙ ඒ අනුමානයෙන් දකපු සත්‍යය ප්‍රත්‍යක්‍ෂ කරල දකින ප්‍රත්‍යක්‍ෂය. ප්‍රත්‍යක්‍ෂ වීමේ අදහස නම්, සත්‍යයට අනුව ඉහළ දකිනකොට භව ගමනට හේතු වූ යම් ලෝභයක්, අවිද්‍යාවක්, තණ්හාවක් ක්‍ෂය වුනාද, ක්‍ෂය වෙච්ච බව දන ගන්නවද, එතකොට ප්‍රත්‍යක්‍ෂය වෙලා ඒ බව දනීමත් ඒ ඇසින්ම දන ගැනීම.

මේ අර්ථයන් නොදන සාමාන්‍ය වැටහීමක් හිතාගත්තු පමණින්, මට ප්‍රත්‍යක්ෂ වෙලා තියෙනව කියල සමහරු ප්‍රකාශ කරනවා. හැබැයි අනුමාන ඥානයෙන් ගත්තු වැටහීම මුල් කරගෙන යම් විදිහකට ප්‍රත්‍යක්ෂ වුනා නම්, තමන් කෙරෙහි මතු නූපදිනා විදිහට සහමුලින්ම ගිලිහිලා ගිය, කොච්චර ඇසුරට ඇදල දැම්මත් නැවත කිසි දවසක ඒ ඇසුරේ පිහිටුවන්න බැරි කොටසක් පිළිබඳව හේතුඵල සහිත වැටහීමක් විය යුතුයි. යම් මාර්ග ඵලයක් ලැබීමට පෙර ආසන්න කාලයේ මේ තත්ත්වය තේරෙනවා. යම් ද්‍රව්‍ය විමුක්ත වූ, වින්දන විමුක්ත වූ, චිත්ත විමුක්ත වූ නිදහස් බවක් නිසා, මතු ඇලීමක් බැඳීමක් නොවන ස්ථිර බවක් වුනා නම් ඒ මග ඵලයක්.

මෙබඳු ප්‍රත්‍යක්ෂ වීම් සහ මතු අත්හැරුණු බවක්, මිදුනු බවක්, නොඇලෙන බවක් කෙරෙහි නැවත ආපසු නොඇදෙන ස්වභාවයක් තියෙනවද, හතර වතාවක් සම්පූර්ණ කෙරෙන මේ තත්ත්වය තමයි සතර මග ඵල කියන්නෙ. හතරවනුව යෙදෙන මගඵලයෙන් සියල්ල අත්හැරල මිදිල නොඇලී ගිහින් කෙළවර කරනවා. මහා ගින්නක හැමදාම වාසය කරන, ගින්නෙන් පිට අත්දැකීම් නැති අය, එයින් මිදීම කෙබඳු ස්වභාවයක්ද කියල ගිනි හෝ ගිනි අඟුරු හෝ ගිනිගත් දේ තුළින් මොකක් අරගෙන කොහොම කියන්නද? කවදා හරි මොහොතක් එළියට පැනල සිසිල් මාත්‍රයක් දැනුන කෙනෙකුට නම් ඒ මිදීමේ සිසිල් බව වැටහෙනවා. ඒ වගේම ලෝකයේ තියෙන ආලෝකයකින් හෝ චිත්තාලෝකයකින් හෝ උපමාවන් මගින් හෝ නිවන පෙන්වන්න බෑ.

යමෙකුට පින් සිත් පහල වෙනකොට පව් සිතේ තිබිච්ච දාහය පේන්න පටන් ගන්නවා. ඒ පව් සිත්වල තියෙන මහා ගිනි සැර, ලෝභයෙන් නැගෙන දාහ ගින්න, ද්වේශයෙන් නැගෙන දාහ ගින්න, මෝහයෙන් නැගෙන මුළා ගින්න වැටහෙනවා. හැබැයි එහෙම වැටහුනාට, දාමරිකයන් නිදාගෙන ඉන්න වෙලාවට දරුණු බය ගති විද්‍යමාන වෙන්නෙ නෑ වගෙයි ඒ වැටහීමත් තාවකාලිකයි. නමුත් ඒ වෙලාවට වැටහෙනවා, පාපය ගින්නක් බව, පිනෙහි නිවුනු ගති ඇති බව. හැබැයි නැවතත් පාපය නැගුනොත් පින් හිත නිදියනවා. එතකොට තේරෙන්නෙ ගිනි දාහය නිවන්න ඊට වඩා සැර තියෙන මහා ගින්නක් වගෙයි වෙන්න ඕන කියන එක. ඒ තමයි පාප සිත් ඇති වුනාම හිතෙන ආකාරය. පාප ගිනි හිත් නිදාගෙන ඉන්න කොට ගිනි නැති වගේ පෙනුනත්, ගින්නෙන් දැවෙනවට වඩා රස්නය වදින තැන සුවයි කියල හිතෙනව වගේ, පිනවන පින් ගතිය සුවයි කියල හිතෙනවා. එතකොට දැල්වෙන ගිනි නැති නිසා සමහර අය පින් සිත්වල ගතියට නිවන කියලත් රැවටෙනවා.

“මම මෙච්චර දන් දුන්නා, අසරණයන්ට ගෙවල් දොරවල් හදල දුන්නා, ඉතින් පෙර තිබිච්ච මගා ගිනි වගේ පාප දාහයන් දැන් නැති නිසා මම අත්හැරුණු, මිදුණු, නොඇළුණු සුවය දකිනවනේ” මෙහෙමත් තීරණවලට බහින අය ඉන්නවා. එහෙම නැත්නම්, මේ පිනවන තත්ත්වයම සුවයි කියල හිතාගෙන ඒකෙ ඇලෙනවා. මේ අවස්ථාව තෝර ගන්න නම් තමන් තුළ තියෙන විඳීම ගැන මෙහෙම මෙනෙහි කරල බලන්න ඕන. මට මේ තත්ත්වය සුවයි සනීපයි ආස්වාද සහිතයි කියල වැටහෙනව නම්, ඒ බව හිත තුළ බැහැගෙන තියෙනව නම්, ඒ තමයි වේදනාව. සුව බව දැනෙන කොට ඒක හඳුනනව නම්, හඳුනා ගැනීමට ගතියක් ඒ තුළ තියෙනව නම්, ඒ තමයි සංඥාව. ඒක පැවැත්විය යුතුයි, විඳිය යුතුයි කියල හිතෙනව නම්, ඒ තමයි සංඛාර. මෙබඳු දැනීම් පිණ්ඩයක් පිළිබඳව බලාපොරොත්තු වෙනව නම්, ඒ තමයි විඤ්ඤාණ. රූපාකාරයක් සමග ඒක බැඳිල හිටිනව නම්, ඒ තමයි රූප. මේ විදිහට රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ ඇති තැන පංචස්කන්ධය මිසක් නිවන නෙවෙයි කියල තීරණය කළ යුතුයි.



මේ විදිහෙ පින් සිත් තියෙන අය ඊළඟට භාවනාවකින් හිත අරමුණක බැඳ ගන්නවා. පව් සිතක් තියාගෙන, කලින් කිව්ව වගේ ගෙදර අයට, පිට අයට පාඩමක් උගන්වන්නම් කියල සියුම් දූෂ්‍ය භවකින් ගිහින් භාවනාවට හිත එකග කර ගන්න බෑ. භාවනා කරල පස්සෙ එනකල් මේ මේ දේවල් බලාගන්න කියල අණපනත් විධාන පනවල, මම එනකල් හොඳින් ඉන්න කියල භාවනා කරන්න යන අයත් ඉන්නවා. **දේපළ, ඉඩකඩම්, හරකබාන, අඹුදරු, යානවාහන... ආදී ලෞකික වස්තූන් ගැන ටික වෙලාවකට හරි, ටික කාලයකට හරි අත්හැරල භාවනා කරල ප්‍රතිඵල ලබාගන්න යන ගිහියෙකුට හෝ අඩු ගණනෙ මගේ බණ පොත් ටික, කුඩය, හැරමිටිය හෝ තෙල්ගුලාව හෝ මම එනකල් අඳින්න එපා කියල අණපනත් තියල යන පැවිදි කෙනෙකුට හෝ භාවනා කරල අරමුණකට හිත තියල එකග කරනවයි කියන එක වෙන්නෙ නෑ. ලැබුන මොහොතෙ කළ යුත්ත කළා ඉවරයි.**

ආයෙත් මගේ බලාපොරොත්තුවක් නෑ කියල තීරණය ගත්තු ගිහියෙකුට හෝ පැවිදි කෙනෙකුට හෝ මේ ලෞකික භාවනාව වඩන්න හේතු තියෙනවා. ඒ මොකද? යම් කාම වස්තුවක් කෙරෙහි පරෙස්සම් කරගෙන ඒ ඒ තැන්වල හාවෙලා (තණ්හා) තියෙන හිත නිසා තමයි, මම එනකල් අඳින්න එපා, කාමරේට යන්න දෙන්න එපා, මේ පොත් ඇදල දමයි... ආදී අදහස් එන්නෙ. කාම වස්තු කෙරෙහි මේවත් බැඳීම් වෙනවා. **බණ පොත නමුත් රකින බලාපොරොත්තුව තිබුණොත් බණ රැකගන්න, වස්තු පරිහරණය කරන හිත ඇවිත්, ද්‍රව්‍ය වස්තුවලින් ඉවත යන්න නොදී බැඳගන්නවා.** ඒ ඒ තැන හාවෙන කොට එක ද්‍රව්‍ය වස්තුවක මූලයකට හිත තියන්න බෑ. ද්‍රව්‍ය වස්තුවල හිත විසිරිලා. එකක් අල්ලන්න



# මගඵල යැයි රැවටුණු ලෞකිකත්වයන් හඳුනාගෙන සත්‍යාවබෝධයට පිළිවෙත් පිරීම...

පඨවි, ආපෝ, තේජෝ, වායෝ, ආලෝක... ආදී කසිණ අරමුණක හිත එකඟ කළාම, කාමාවචර පින ඇසුරු කරපු සතර ධාතුවලින් හැදිච්ච ලෞකික වූ ද්‍රව්‍ය වස්තු කෙරෙහි කැමැත්තෙන් බැඳුණු හිත ඉවත් වෙලා නිදහස් වෙලා අරමුණු මාත්‍රයකම පිහිටනවා. එතකොට ගිනි රස්නය වැදුනු තැනක් පසුකරල ගියා වගේ හැඟෙනවා. සිසිල් බව ශරීරයට දැනෙනකොට තමයි ගිනි රස්නයේ ආදීනව පේන්නෙ. ඒකෙන් මිදුනම අඳුරු ගති පහවෙමින් ආලෝක ගතිය ඇසුරු කරපු, ද්‍රව්‍ය වස්තු තුළින් වෙන් වෙච්ච සිතක් ඇති වෙනවා. මේ වෙලාවට හිතෙනවා, පෙර කිසි කාලයක දැක්කෙ නැති පවිත්‍ර ප්‍රභාස්වර ආලෝකය මම දැක්කා, මේ තමයි නිවන කියල.

පළමු වතාවට දැක්ක මේ දර්ශනය සියලු තැන්හිදීම ඵළියෙන් පූර්ණ වුනාට පස්සෙ රහත් ඵලය පූර්ණයි කියල සමහරු රැවටෙනවා. හරියට **ගිනි සැරෙන් දාහයට පත්වෙලා ඉඳල සිසිල් ජලය නානකොට ඇති වන සුවය වගෙයි, ඝන රූප තත්ත්වයන් ඇසුරු කිරීම අත්හැරල ආලෝකය ඇල්ලුවම මහා සුවයක් දැනෙනවා.** ඒක නිරාමිස සුවය වගෙයි ඒ වෙලාවට වැටහෙන්නෙ. නමුත් ආලෝක ස්වභාවය ඇසුරු කරපු සිත් ස්වභාවය තමයි මේ වැටහෙන්නෙ. මේකත් කලින් වගේම පරීක්ෂා කළ යුතුයි. යම් ආලෝක දර්ශනයක් මට රූප්පනය වෙලා පෙනුනද මේ තමයි ඒකෙ රූපය. ඒ පිළිබඳ දැනීමක් මට තිබුනද මේ ඒකෙ වේදනාව. ඒකෙ හැඳිනීමක් වුනාද ඒ තමයි ඒකෙ සංඥාව. ඒකෙ ආස්වාද වශයෙන් බැඳුන බවක් වුනාද ඒ තමයි සංඛාර. සියල්ල කැටි කළ දැනීම් ස්වභාවයක් බලාපොරොත්තු වුනාද ඒ තමයි විඤ්ඤාණය. මේ විදිහට ඒකෙ පංචස්කන්ධයම පවතිනවා. ඉතින් මේ නිවන නෙවෙයි.

මේ විදිහට පුද්ගලයා ඒ ආලෝක කසිණය තුළ ඉඳගෙන, ඒකෙ සිත නොබැඳ උඩ යට දෙපස දස දිසාවෙම අතරක් නැතිව සිත පතුරවල මෙහෙය වනවා. දැන් ඔහුට තමන් වටා බැඳුන, තමන් කියල ගන්න පුළුවන් ආකාරයක් නැති ප්‍රභාස්වර බව ඇති ආලෝක පිඬ හැරුනම අනන්ත ඉඩ ප්‍රමාණය දිස් වෙනවා. ආලෝක ආස්වාදය ඉක්ම වූ සූක්ෂ්ම වූ ආකාස ධාතුවේ සිත ඇති වෙමින් සූක්ෂ්ම බව ස්පර්ශ කරනකොට ආලෝක ස්පර්ශය ගොරෝසු විදිහටත්, ආකාස ධාතුව සියුම් විදිහටත් වැටහෙනවා. දැන් ඔහු ආලෝක ධාතුවේ තිබිච්ච හිත අත්හැරල සූක්ෂ්ම වූ ආකාස ධාතුව ඇසුරු කරන සිතෙන් පහල වෙනවා. දැන් ඔහු මෙහෙම හිතනවා. "මේ තමයි නිවන, අත් හැරියෙමි, මිදුනෙමි, නොඇළුනෙමි." නමුත් තවම රැවටීමක් මිසක් මිදීමක් නෙවෙයි. නිවනක් නෙවෙයි. නිවුනු ආකාරයෙන් පෙන්වන ලෞකික සුවයක් විතරයි. දැන් මේකත් මේ විදිහට පරීක්ෂා කරල බලන්න ඕන. ඒකෙ

හැදුවට, ඒවායේ කාම රාග නැති වුනාට, බණ පොත වුණත්, හැරමිටිය, තෙල්ගුලාව වුනත් රූප වස්තුවක්. රූප වස්තුවල සිය දහස් ගණනක පටන් අඩු තරමින් දෙකක හෝ හිත බැඳුනොත් ඒ දෙකෙනුත් එකක් ඉතිරි කරල අනිකෙන් හිත ගලවනකල් එක රූප අරමුණකට හිත ගන්න බෑ. යම් තැනක හාවුණොත් ඒ තැන තණ්හා වෙනවා. එතකොට ඒක අල්ල ගත්ත, බදාගත්ත වෙනවා. එතකොට ඒකෙන් හිත ගලවන්න බැරි වෙනවා. මෙහෙම තේරුම් කර ගත්තම ද්‍රව්‍ය වස්තු කෙරෙහි බැඳීම අත්හැරල පඨවි, ආපෝ, තේජෝ, වායෝ, ආලෝක ආදී කසින (ක + සින - කාම දුශ්චරිතයන් හෙවත් පහත් දේවල් ක්ෂය කර දමන) අරමුණකට හිත තිච්ච නම් එතන එකඟ වෙනවා.

එක අවස්ථාවක බුදුන් වහන්සේ ධර්ම දේශනා කරන වෙලාවක භික්ෂූන් වහන්සේලාගේ සමාධිය බිඳල හිත වික්ෂිප්ත කරන්න මාර දිව්‍ය පුත්‍රයා ගොන් වෙසක් මවාගෙන පාත්‍ර බිඳින විදිහට කැරකුන බවත්, එතකොට බුදු පියාණන් වහන්සේ, ඔය ගොනෙක් නෙවෙයි ඔබලාගේ සමාධිය බිඳින්න ආපු මාරයා කියල කිව්වම, බුදුන් මාව හඳුන ගත්ත කියල හිතල මාර දිව්‍ය පුත්‍රයා අතුරුදන් වූ බවත් ධර්මයේ සඳහන් වෙනවා. පාත්‍රය, අට පිරිකරට අයිති වුනත් ඒක හෝ රකින්න හිතාගෙන ඉන්නව නම් ඒකත් සමාධියට බාධා වෙන හැටි ඒ අනුව පේනවා.

*පූජ්‍යපාද වෑහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් නැවත මතු කරන ලද දහම් කරුණු ඇසුරින් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

රූප නෑ. රූප මුක්තයි. නමුත් ආකාස බව දැනෙනවා. ඒ තමයි වේදනාව. අහස බව හැඳිනීම තියෙනවා. ඒ තමයි සංඥාව. ආස්වාදයට එල්බගෙන ඉන්න හිතෙනවා. ඒ තමයි සංඛාර. මේ සියල්ල පිළිබඳ දැනීම් බලාපොරොත්තු තියෙන්නෙ විඤ්ඤාණය නිසා. මේකෙ නාම ධර්ම හතරක් තියෙනවා. ඉතින් මේ නිවන නෙවෙයි. රැවටීමක්. එහෙනම් නිවන් මග සහ නිවන් දැකීම කොහොම වෙන්න ඕනද?

යම් කාලයක තෙරුවනට ගරු සත්කාර පූජා කටයුතු කරපු කෙනෙකුට පින් සිත් සමග තෙරුවන් කෙරෙහි භක්තියක් ගරුත්වයක් ඇති වෙනවා. මේ තත්ත්වය භවයේ යම් කාලයක ලබල තියේ නම්, ඒ කාලයේ විශේෂයක් ඒ කෙනාට නොදැනුවත්වම සිද්ධ වෙනවා. රාගයෙන්, ද්වේශයෙන්, මෝහයෙන් තොර වූ ත්‍රිවිධ රත්නයට, ඒ වගේම බිය තැති ගැනුම් පලා යාම් නැති ත්‍රිවිධ රත්නයට ගරු උපහාර සත්කාර කරන පින්වත් මොහොතකදි, මේ සාසන බීජය ඒ පුණ්‍ය චිත්ත සන්තානය මගින් මනෝ විඤ්ඤාණ ධාතු ශක්ති ගතව පිහිටනවා. මේ තමයි කුසලයේ බීජ අවස්ථාව. අනන්ත භවයේ සැරිසැරුවත් නාම ගෝත්‍රයේ අත්හැරීම, මිදීම, නොඇල්ම අරභයා පහල වෙච්ච මේ කුසල බීජය ඔහුට ඒ මොහොතේ කොළ, දලු, මල්, එල පෙන්වන්නෙ නෑ. (මේ උපමාවක්. මෙබඳු ගස් සටහනක් හෝ බීජ ආකාරයක් හෝ නාම ගෝත්‍රවල නෑ)

ඊට පස්සෙ කවදහරි සාසනය විද්‍යමාන වෙන කාලවලදි තිරිසන් ගතව වුනත්, මිනිස් වුනත්, දෙව් බඹ වුනත් මේ ඇති වෙච්ච පැහැදීම අත් හැරෙන්නෙ නෑ. දකින දකින මොහොතේ පැහැදීම පහල කරල තෙරුවන් මුල් කරගෙන පුණ්‍යස්කන්ධයන් ලබමින් සැරිසරනවා. මේ විදිහට කුසල බීජය ක්‍රමයෙන් මෝරල නැගෙනවා. ඒක යම් දවසක බලවත් වෙලා අනුකූල වූ නාම රූප හැඩ ගස්සවන්න සමත් වෙනවද, අත්හැරීමම මිදීමම නොඇල්මම හැර වෙනත් සරණක් නැති බව අදහස් කරමින් සාසන ගුණයට අනුවම සළායතන නිරෝධයට මග පාදමින්, දහම් අරමුණු සුදුසු පරිදි ලබන්න මුණ ගැහිච්ච අවස්ථාවල නැගෙමින් ක්‍රමයෙන් මෝරල බලවත් වෙනවා. යම් කාලයක සුදුසු මේරීමට පත් වෙච්ච මේ කුසල බීජය සුදුසු අවස්ථාව එනකල් දිරන්නෙ නැතිව නාම ගෝත්‍ර ගතව පවතිනවා. මෙබඳු සත්ත්වයෝ මේ සංසාරයේ බොහෝ කොට ඉන්නවා.

මේ අයට යම් කාලයක මිනිසත් බවක් හෝ දෙව් බඹ අත්බවක් හෝ පින් හේතුවෙන් ලැබෙනවද, එබඳු කාලයක සම්මා සම්බුද්ධ සාසනයක් මුණ ගැහෙනවද, එතකොට මේ නිරෝධ ධර්මය වැටහෙන්න මාර්ගය උදා වෙනවා. විරාග නිශ්‍රිත, නිරෝධ නිශ්‍රිත බණ අහන මොහොතක අනුරූප කුසල් සිත නැගිල එනවා. ඒ කුසල් සිතට එච්චර කාලයක් සංසාරයේ විවේක නිශ්‍රිතව, විරාග නිශ්‍රිතව, නිරෝධ නිශ්‍රිතව, වොස්සග්ග පරිණාමීව ඇසූ දැරූ යම් ශක්තියක් ඇත්ද, ඒ ශක්තිය නාම රූප නිරෝධ බවින් යුතුව ඇදිල එනවා. යම් තාක් කාම සංඛාර, රූප සංඛාර, අරූප සංඛාර ඇත්ද ඒ සියල්ල ලෝකය බවත්, ලෝක ආශ්‍රය කියන්නෙ පැවැත්මක් හා සම්බන්ධ අනාත ධර්ම බවත් වැටහෙමින්, නිරෝධ සංඛ්‍යාත නිර්වාණය එකම සැනසීම බවත් වැටහෙමින්, චිත්ත නිරෝධ වශයෙන් පිහිටමින් පළමු වන මාර්ග එල සිත උපදිනවා.

එතැන් පටන් සංඛාර ධර්ම නිච්චයි, සැපයි, අත්තයි කියන දෘෂ්ටියක් ඒ පුද්ගලයට ඇති වෙන්නෙ නෑ. ප්‍රිය මධුර ස්වභාවය ඇතිව ඇසුරු කරන යම් කාම, රූප, අරූප ධර්ම ස්වභාවයක් ඇත්ද, ඒ සියල්ල ලෞකික බවත් වැටහෙනවා. ඒවා ගිනි බවම වැටහෙමින් යම් මොහොතක ගිනි අත්දැකීමක් ලැබුවද, මේ සසර ගිනිවල හැටියි කියල ඉතා ගැඹුරුව සිත පිහිටමින්, මේ අරමුණ ගිනිය, අත්හැරීම මිදීම හා නොඇල්ම නිවනයි කියන වැටහීම ප්‍රබල කරමින් ඒවාට තිබිච්ච ඡන්ද රාගය අත්හරිනවා, මිදෙනවා, නොඇලෙනවා. මේ විදිහට මේ වැටහීම ප්‍රත්‍යක්ෂවීම තදංග විෂ්කම්භන වශයෙන් අවබෝධය වඩමින්, අවසානයේ සමුච්ඡේද වශයෙන් ප්‍රත්‍යක්ෂ කරමින් නිරෝධය වැටහෙමින් නාම රූප සිඳී යමින් නාම රූප නිරෝධ කරමින් පටිපස්සද්ධි කියන අත්හැරීම, නොඇල්ම, මිදීම සිද්ධ වෙමින් පිහිටනවා.

බණ අහන මොහොතක මේ විදිහට පළමු අවස්ථාවේ, සාරයි කියන දෘෂ්ටිය අත්හරිමින් දහම් මග සැක හරිමින් මාර්ගය තිර ලෙස පිහිටවමින් නිරෝධයට හිත පිහිටනවා. ඉන්පසුව කාමස්වාද කෙරෙහිත්, ඒවා පරිහරණයේදි ඇති වන සට්ටනයට හේතු පිළිබඳවත්, බලාපොරොත්තුවල නිස්සාර බව දකින්න හේතුවන ඇසුරු කරන අරමුණුවල දුක් ගිනි දකිමින් තදංග විෂ්කම්භන (ඒ මොහොතට විතරක් කම්පනය කරල ඉවත් කිරීම. ඒ කියන්නෙ තාවකාලික ඉවත් කිරීමක්) බව අවබෝධය පුළුල් කරවමින් ඇති කරල, සමුච්ඡේද (සහමුලින්ම උපුටා දැමීම) වශයෙන් එබඳු අරමුණු කිසි දවසක නැවත පරිහරණය නොවන විදිහට පත් කරමින් සුන් වෙමින් ගිහින් සුදුසු ප්‍රබල විදර්ශනා මොහොතක පටිපස්සද්ධි ප්‍රහාන (සංයෝජන බිඳ හැරියා යන්න) මගින් පහ කරමින් දෙවැනි වරටත් නිරෝධ ධර්මයට පත් වෙනවා. මේ තමයි දෙවැනි සකෘදගාමී මාර්ග එලය.

නැවතත් ඉතිරි සියුම් කාමාස්වාදයන්ගේ ඇසුරු කිරීමෙදි ඒවායේ දොස් දකිමින්, ඒ දොස්, ගිනි සේ දකිමින් ඒ ඒ විදර්ශනා අවස්ථාවලදි තදංග වශයෙනුත්, යටපත් වෙලා යන විෂ්කම්භන වශයෙනුත්, මතු නොවන ලෙස සිඳීම් වශයෙනුත් සමුච්ඡේද වශයෙනුත් සංසිඳිල, ප්‍රබල විදර්ශනා මොහොතක පටිපස්සද්ධි ප්‍රහානයට පත් කරවමින්, නාම රූප නිරෝධවීම් වශයෙන් පූර්ණ කරන්න ළං වෙන විදිහට පිහිටනවා. මේ තමයි අනාගාමී මාර්ග එලය. දැන් මේ පුද්ගලයට කාම වස්තු කෙරෙහි බැඳුනු කිසිම චේතනාවක් ඇති වෙන්නෙ නෑ. නැවතත් විදර්ශනා මොහොතක් නිතරම සිහි කිරීම ආර්ය පුද්ගලයන්ගෙ විශේෂයක් වන නිසා, ඒ ඒ අවස්ථාවල රහතන් වහන්සේලාගේ ස්වභාව ලක්ෂණ පහල කරමින් විෂ්කම්භන වශයෙන් අවබෝධය පුළුල් කරමින්, සමුච්ඡේද වශයෙන් මුල් සුන් කරමින් ඇලීම් ගැටීම් නැති වෙලා ලෝකය ගැන දැන ගන්නා බලාපොරොත්තු ප්‍රශ්නාර්ථ දුරු කරමින් සියලු මතකයන් ඇල්ලීම දුරු කරමින් ප්‍රබල විදර්ශනා මොහොතකදි කාම, රූප, අරූප තල සම්බන්ධ නාමයන් සහ රූපයන් සහමුලින්ම නිරෝධ කරමින් පටිපස්සද්ධි ප්‍රහානයන් පූර්ණ කරමින් සියලු සසර බැමිවලින් මිදිල උතුම් රහත් එලයට පත් වෙනවා.

දැන් අල්ල ගත්ත කිසිම තැනක් හෝ අරමුණු කරල බැඳුනු කිසිම රූපයක් හෝ නැති නිසා රූප නිරෝධයි, රූපාකාර කිසිවක් නෑ. දැනෙන දෙයක බැඳුනු දහමක් නැති නිසා සම්පස්සජා වේදනාත් නෑ. හඳුනන දේවල් කෙරෙහි ඡන්ද රාගයක් නැති නිසා සංඥා නිරෝධයි. ආස්වාද වශයෙන් වින්දනය කරල "මම වෙමි" කියන හෝ "මෙතැන ඇත" කියන හෝ බැඳෙන දෙයක් නැති



නිසා අභිසංඛාර හෙවත් මතු උපතකට හේතු වෙන සංඛාර නෑ. මේ පිළිබඳව දැන ගන්න බලාපොරොත්තුවක් නැති නිසා අභිවිඤ්ඤාණ නෑ. ගිනි බව දැනගෙන අත්හැරියද ඒක නැවත පිහිටන්නෙ නෑ. ඒ ගැන පිළිගැනීමකුත් නෑ. මේ අත්බවය තියෙන කල්ම ගිනි නැති බවත්, ගිනි නැති සැනසීමත් වැටහෙනවා. අත්බැව කෙළවර වුනාද, එබඳු වැටහීම් දකින්නෙකුත් විද්‍යමාන වෙන්නෙ නෑ. මේ කෙළවර අනුපාදිශේෂ නිවන. ඒක පරිනිර්වාණයත් සමග පූර්ණ වෙනවා. මේක තේරුම් ගන්න බැරි නම්, ඒ සඳහා උත්සාහ නොකර, වටහා ගන්න පුළුවන් අනිච්ච, දුක්ඛ, අනත්ත බව වටහා ගන්න පිළිවෙත් පුරන්න. ඒක යථාවබෝධයෙදි වැටහෙනවා. ඒ සඳහා පිළිවෙත් පුරන්න ඕන කොහොමද?

ඔබ මනුස්සයෙක්. බුද්ධ සාසනය තවමත් විද්‍යමානයි. සුදුසු විදිහට තෙරුවන් ගුණ හඳුන ගන්න. ඔබට පුළුවන් තරමට උත්සාහ කරන්න. නිතර නව ගුණ ගාථා... ආදිය භාවිතා කළාට වරදක් නෑ. ඒක ඉතා හොඳයි. හැබැයි අර්ථවත්ව දැනගෙන භාවිතා කිරීම වඩා ප්‍රයෝජනවත්. ඔබේ සිත හඳුන ගන්න. ඒ ඇයි? ඔබට කාමයට ගිජු වෙච්ච, කාම වස්තුවල ඇලෙන සිතක් තියෙනවද කියල බලන්න.

**දේපළ ඉඩකඩම්, ගේ දොර, යාන වාහන, අඹුදරු, හරකබාන, සංගීත භාණ්ඩ, කාමුක කවි සින්දු, කාමුක සංගීත, කාමුක ක්‍රියා... ආදී මේවාට ඇලිල ගැලිල තියෙන ඒවා මහ උසස් දේවල් කියල හිතෙන ගති ඔබට තියෙනවද කියල කල්පනා කරල බලන්න. ඒවා නැත්නම්, ඔබට අනුන්ට හිංසා පීඩා කරන, අනුන් රවටන, අනුන් බිඳවල සතුටු වන, අනුන්ට උගුල් අටවල ඒවායේ අනුන් ඇද වැටෙන කොට සතුටු වන, අනුන්ට නින්දා අපහාස කරල ආස්වාද ලබන, අනුන් නැසේවා වැනසේවා කියන, ඔහු මගේ හතුරා නිසා වැනසේවා කියන, ඔහු මගේ මිතුරා නිසා ඔහුට අනුන් වැනසීමෙන් හරියාවා කියන, මගේ හතුරා සමග හිතවත් මොහුට දුකම ඒවා කියන,** පිරිහේවා කියන මෙබඳු සිත්වලින් ඔබව ගිලගෙනද? ඔබට යුක්තිය සාධාරණය යමෙක් පෙන්වා දෙන කොට ඔහු කෙරෙහි කෝපය වෛරය හට ගන්නවද? තමන්ට නින්දා පරිභව කරන කොට ඔහුට පෙරළා බැණ වදින්න, නින්දා කරන්න, හිංසා කරන්න ඔබට හිතෙනවද? ඔබේ දේවල් රැක ගන්න ඕනෑම හිංසාවක් පීඩාවක් කරන්න ඔබේ හිත දරුණුද? ගුණවතෙක්ගෙ ගුණයක් කියන කොට ඔහුගෙ අගුණයක්ම හොයල ඔහුට නින්දා කරන්න ඔබේ හිත දඟලනවද? මේ වගේ දේවල් ඔබට තියෙනව නම්, මේ ස්වභාවය තියෙද්දිම සාසන දහම වඩල මේ අත්බවේ උසස් ඵලයක් ලබා ගන්න බෑ.

**මහත් අගුණ කෙනෙක්ගෙ සුළු ගුණයක් දැකල, ඒකෙන් ඔහුට ප්‍රසංසා කරල ඔහුගේ ඉතිරි අගුණ දුරු කර ගන්න, හිත රිදෙන්නෙ නැති විදිහට කාරුණිකව අවවාද අනුසාසනා කරන්න ඔබට පුළුවන්ද? ඔබට හිංගිහිංසා කරපු කෙනෙකුට විපතක් වෙලා ඔබ හොයාගෙන ආවොත්, අමනාප නැතිව කරුණාවෙන් පිළිඅරගෙන ඔහුට සංග්‍රහ කරන්න ඔබට පුළුවන්ද? සුළු අමනාපයක් ඇති වුනත්, කෝප වුනාම ඇති වන ද්වේශ ගතියේ ආදීනවය ගැන හිතල ඉවසන්න ඔබට පුළුවන්ද? දුප්පතා, දුබලයා දැකල, කුලහීන කියල සමාජ සම්මත කෙනෙක් දැකල, ඔවුන්ගෙ හිත් රිදවල අවමන් කරල තමන්ගෙ උසස් බව එළි දක්වන්න යන්නෙ නැතිව, නිරහංකාරව හොඳින් හිත සැනසෙන විදිහට කටයුතු කරන්න ඔබට පුළුවන්ද? උපයන දෙයකින් මසුරු වෙන්නෙ නැතිව අනුන්ටත් උදව් උපකාර කරල, ඒ සම්පත් තමනුත් භුක්ති විඳල සුවයක් ලබනව වගේ ඔබට සතුටු වෙන්න පුළුවන්ද? දෙමව්පිය ගුරුවරු ආදී අයට සංග්‍රහ කරල අනතිමානීව ඒ අය සතුටු වෙන විදිහට කටයුතු කරන්න ඔබට පුළුවන්ද? අනුන් රවටන්නෙ නැතිව අනුන්ට ගිනි ගෙඩි දෙන්නෙ නැතිව, යුක්ති ධර්මය අනුව කටයුතු කරන්න ඔබට පුළුවන්ද?**

මෙබඳු ගුණ ධර්ම ඔබ සතු නම්, තෙරුවන් ගුණ කෙරෙහි, එබඳු ගුණ දරන උතුමන් කෙරෙහි ගරු සරු බව, හද තුළින් නැගෙන ගතිය ඔබට තියෙනවද, තෙරුවන් ගුණ කියන කොට අහන කොට හිතට සතුට දැනෙනවද? ඔබට මේ ගති නැත්නම් ඒ සඳහා ආයාසයෙන් කටයුතු කරන්න උත්සාහ කරන්න. සසරෙදි කරපු කුසල බීජ ඔබේ හිත තුළ වැඩිල තියේ නම්, මේ විදිහට කටයුතු කරන ඔබට හදවතින් නැගෙන ගරුත්වය සමග නිරාමිස ප්‍රීතිය මතු වෙලා එන්න හේතු වෙනවා.

බාහිර පරිසරයේ දරුදඬු පුද්ගල ඇසුර නිසා සමහර විට ඔබේ සහජ ගතිය යටපත් වෙලා වෙනත් පාප ගති මතු වෙලා දරුදඬු ගති ඔබට තියෙන්න පුළුවන්. නමුත් ඔබට යම් මොහොතක හෝ හොඳ ගති ගුණ මතු වෙනව නම්, ඔබේ හිත නිවෙන අවස්ථා තියෙනව නම් අධෛර්යමත් වෙන්න එපා. මොකද ඒ ඔබ සසරෙදි ගුණ ධර්ම පුරල තියෙන කෙනෙක් බවට ලක්ෂණයක්, මේ අත්බවේදි නිවන් ප්‍රත්‍යක්ෂ කර ගන්න වාසනාව ලබල තියෙන බවට ලකුණු මතු වීමක්. මේ ගුණ ඔබට තියෙනව නම්, සූවිසි මහා ගුණ ඇසුරින් නිවන් දකින ඉතා හොඳ මගක් මීට පෙර විස්තර කරල තියෙනවා. ඒ මග හරියට අනුගමනය කරන්න. ඔබට මේ අත්බවේදි නිවන් දකින්න පුළුවන්. ඔබ උපත ලබල තියෙන්නෙ ත්‍රිහේතුක පටිසන්ධියකින් නම්, මතු ඒකාන්තයෙන්ම නිවන් දකින, අපා බියෙන් මිදුන සෝවාන් මාර්ග අනුගාමිකයෙක් වෙන්න වාසනාව ලබන්න පුළුවන්.

ආලෝකය දැල්වුවොත්, ඉර පැයුවොත්, හඳ පායල තිබුනොත් ඇස් තියෙන අයට පේනවා. ඇස් තියෙද්දි අඳුරු පටලවලින් වැහුවොත්, එහෙම නැත්නම් ඇස් පියාගෙන ☞

**අභයරතනාලංකාරය - 72**

# නොපළ වූ ගුණ කඳ - I



**(පසුගිය කලාපයෙන් - අසිරිමත් ආදාහනයක පෙනුනු නොපෙනුනු දෑ...)**

**- වහරක අභයරතනාලංකාර හිමි**

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේගේ ජීවන චරිතයෙන් වර්තමානයේ ජීවත් වෙන අයටත්, මතු උපදින පරම්පරාවටත් මෙලොව පරලොව අභිවෘද්ධියට වගේම නිවනටත් උපනිශ්‍රය කරගන්න පුළුවන් කාරණා බොහොමයක් තියෙන නිසා, ඒ සම්බන්ධයෙන් උන්වහන්සේ ගිහි වතක හිටපු කාලයේ පටන් මේ දක්වා ඇසුරු කරපු ගිහි පැවිදි දෙපක්ෂයේම අත්දැකීම් හැකි පමණින් ඉදිරිපත් කිරීම තමයි මේ ලිපි පෙළේ අරමුණ. ඒ නිසා පුංචිම තැනකින් පටන් අරගෙන ඒ අත්දැකීම් මේ විදිහට සටහන් කෙරෙනවා.

උන්වහන්සේගේ ආදාහන පූජෝත්සවයට සහභාගි වෙච්ච එක්තරා තරුණ මහත්මයෙක් පුදුමයෙන් වගේ මගෙන් ඇහුවා, මෙච්චර උත්තමයෙක්ගෙ ආදාහන උත්සවයට ඇයි රාජ්‍ය ගෞරව දුන්නෙ නැත්තෙ කියල. ඒ ගැන ඉතින් අපිට කතා කරන්න බෑ. රාජ්‍ය ගෞරව දෙන්න රටේ නායක ඇත්තො උන්වහන්සේ මෙහෙම කෙනෙක් කියල ඒ ගැන දැනගෙන ඉන්න එපැයි. එහෙම උත්තමයෙක්ගෙ දේහයට ඒ වගේ රාජ්‍ය ගෞරව ලබාදෙනව කියන්නෙ මුළු මහත් රජයටත්, රටේ ජනතාවටත් යහපතක් අභිවෘද්ධියක් වෙන්න හේතු වෙන කාරණයක්. ඒකටත් ඉතින් හේතු වාසනාවක් තියෙන්න ඕන. කොහොම හරි ඉතින් රටේ නායකයින්ට, ඉහළ නිලධාරීන්ට ආරංචි වෙන්නෙ නැති, තේරුම් ගන්න බැරි මේ වගේ කාරණා තේරුම් ගන්න පුළුවන් සාමාන්‍ය ජනතාවත් රටේ වාසය කරන බව මේ කාරණයෙන් පැහැදිලි වෙනවා.

ආදාහනයෙන් පස්සෙ සමහර ජනමාධ්‍ය වාර්තා කරල තිබුනා, කිසිම දේශපාලනඥයෙක් ආදාහන උළෙලට සහභාගි නොවීමත් විශේෂයි කියල. ඒ කියන්නෙ වෙනත් ආදාහන උත්සව වගේ දේශපාලනඥයො ☞

හිටියොත් පේන්නෙ නෑ. පෙනීම තියෙන අය ඇස් පියාගෙන විතරක් හිටියොත්, බලල සතුටු වෙන අයගෙ හඬ ඇහෙන කොට ඇස් ඇරල බලනවා. එතකොට පේනවා. අඳුරු පටල බැඳිල තියෙන අය ඒ පටල ගලව ගත්තම පේනවා. රෝගයක් නිසා ඇස් පේන්නෙ නැත්නම්, බෙහෙත් අරගෙන සුව කරගත්තම පෙනීම එනවා. අද බොහෝ කොට ඉන්නෙ ඇස් නැති අය නෙවෙයි, ඇස් වහගෙන ඉන්න, අඳුරු පටල පිටින් බැඳගෙන ඉන්න, රෝග නිසා අඳුරු වෙලා ඉන්න අය. මේ ඇස් මොනවද? එතකොට එළිය දෙන ඉර, හඳ, පහන් මොනවද? බුදු රජාණන් වහන්සේ සහ නවලෝකෝත්තර ශ්‍රී සද්ධර්ම රත්නය තමයි සූර්යා සහ සූර්යාලෝකය. මාර්ගඵල ලාභී ගිහි පැවිදි පරමාර්ථ සංඝ උතුමන් හඳ එළිය වගේ. කල්‍යාණ ගුණ තියෙන ධර්මධර උතුමන් පහන් එළිය වගේ.

"මහණෙනි, තථාගතයන් වහන්සේ විසින් දේශනා කරන ලද ධර්ම විනය විවෘත වූයේ නම් බබළයි. වැසුණේ නම් නොම බබළයි." දහම් එළිය විවෘතව බබළන කොට ලෝකයට එළිය විහිදෙනවා. දෘෂ්ටිවලට වැටෙන්නෙ නැතිව යහපත් සත් පුරුෂ කල්‍යාණ පින්වත් අය ඇස් ඇරගෙන ඉන්න අය වගේ දහම් එළියෙන් සත්‍යය දැකල මගඵල ලබනවා. ඇස් පියාගෙන ඉන්න අය, ගුණ නුවණ තියෙද්දි මෙහෙයවීමක් නැතිව ඉන්න බුද්ධිවන්ත ගුණවතුන් වගේ. යහපත් ගුණවත්, නමුත් වැරදුන දෘෂ්ටිගත තැන්වල හිත පිහිටවල ඉන්න පින්වතුන් ඇස්වලට පිටින් පටල බැඳගෙන ඉන්න අය වගේ. පාප මිත්‍ර සේවනයෙන් නොමගට ගිහින් දූෂ්‍ය වෙලා ඉන්න අය, බෙහෙත් කරල සුව කරගත යුතු ඇස් තියෙන අය වගේ. ඇස් නැති අය ගැන කතා කිරීමෙනුත් ඵලක් නෑ. ඒ අය ගැන උපේක්ෂා විය යුතුයි. ඒ කියන්නෙ නියත මිසදිටුවෝ. දහම් එළිය ලබන්න වාසනාවන්ත අය පින් කළ යුතුයි.

අරුණාලෝකයෙන් තොරව ඉර උදාවක් නෑ. ධර්මාලෝකය සිතට හදවතට වැටෙන්න නම් දෙව් බඹ හෝ මනුස්ස හෝ විය යුතුයි. ආලවක ආදී අය යක්ස කියල හැඳින් වුවත් ඒ අය යසස් ඇති දේව කොටසට අයිතියි. ශක්‍රයාට පවා යක්ෂයා කියල අමතපු තැන් පෙළ දහම් පොත්වල තියෙනවා. බුදු දහම වැටහෙන්න නම්, දේව ගති හෝ මනුස්ස ගති හෝ මතු වෙච්ච වෙලාවක් විය යුතුයි. ඒ ගති මතු වෙන්නෙ පින් කුසල් අනුව. බ්‍රහ්මයත් දේව කොට්ඨාසයක්. විසුද්ධි දේව කියන්නෙත් රහතන් වහන්සේට කියන නමක්. මේ මොන ආකාරයෙන් වුනත් පිනෙන් ලබන මේ ගති ලක්ෂණ ලබන්නෙ නැතිව නිවන් මග වඩන්න බෑ. "පින් කරන අය සසර සැරිසරන අය. අපි ප්‍රතිපත්තිගරුක අය." මේ අද තියෙන තවත් මුළා අදහසක්, "සත්ථා දේව මනුස්සානං" කියන ගුණය සිහි කරල බලන්න. දෙවි මිනිසුන්ට සාස්තෘ බව ඒකෙන් කියවෙනවා. දෙවි වෙන්නෙ මොකකින්ද? දාන ආදී පින්වලින්. මිනිස් වෙන්නෙත් ඒ ආකාරයටමයි. "සුමනාවනි, දන් දිය යුතුය, පින් කළ යුතුය"... ආදී වශයෙන් සුමනා සූත්‍රයේ කියවෙන බුද්ධ දේශනාවට අනුවත් මේ කාරණය පැහැදිලි වෙනවා.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් නැවත මතු කරන ලද දහම් කරුණු ඇසුරින් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

මුල් වෙලා කරපු අනුග්‍රහ දැක්වීම්, සංවිධානය කිරීම්, කතා පවත්වපු ඒවා තිබුනෙ නෑ. මොකද උන්වහන්සේට කවදාවත් පක්ෂ දේශපාලනයක් තිබුනෙ නෑ. කවුරු ආවත් බුද්ධ චීවරයේ ගරුත්වය තියාගෙන දේශපාලන භේදයකින් තොරව දහම ගැන කතා කළා මිසක් කාටවත් පැත්තක් ඇල්ලුවෙ නෑ. දේශපාලනඥයො ආවත් ආශිර්වාදයක් කරන්න ඕන නම් පොදුවේ ඒ ආශිර්වාදය කළා එච්චරයි.

උන්වහන්සේගේ ආදාහනයෙන් දවස් 2 කට පසු ආදාහනය කරපු ස්ථානයට යන්න මට එක්තරා සිතක් පහල වුනේ, ඉතිරි වෙච්ච අඟුරු කැල්ලක් හරි පූජනීය සිහිවටනයක් වශයෙන් ඉතිරි කර ගැනීමේ අරමුණින්. ආදාහනය සිද්ධ වුනෙත් උන්වහන්සේ කුඩා කල පටන් අකුරු කළ වහරක බොදු මිශ්‍ර පාසලේ (වර්තමානයේ වහරක මහා විද්‍යාලයේ) ක්‍රීඩාංගණයේ. මම එදා ඒ ස්ථානයට යනකොට දවල් 12 ට විතර ඇති. පිට්ටනියේ මැද ආදාහනය කරපු තැන වැලි අතුරල තිබුනා. ඒ වැලි එහාට මෙහාට කරමින් දැවී ගිය අඟුරු කැල්ලක් හොයන කොට මැදිවිය ඉක්ම වූ එක්තරා කෙනෙක් බොහොම අහිංසක විදිහට ඒ ස්ථානයට ඉක්මනින් ආවා. අවේලාවෙ ආපු නිසා ඔහුත් මොකද කියල බලන්න එන්න ඇති. මම ඔහුගෙන් වතගොත විමසුවාම, ඔහු මේ ඉස්කෝලෙ මුරකරු බවත්, වහරක හාමුදුරුවන්ව ඉස්කෝලෙ යන කාලෙ ඉඳන්ම දන්න බවත් පැවසුවා.

ඉතින් මම ඔහුගෙන් ආ ගිය තොරතුරු විමසල වහරක හාමුදුරුවන් ගැනත් ඇහුවා. දහමින් හෝ ලෝක සම්මතයෙන් හෝ වැඩි දැන උගත්කමක් නොතිබුනත්, ඔහුත් මේ ගමේ කෙනෙක් නිසාත්, වහරක හාමුදුරුවො ඉස්කෝලෙ යන කාලෙ ඉඳන්ම දන්නව කියපු නිසාත් ඔහුගෙත් අත්දැකීම් විමසන්න හිතුනා. ඔහු නමින් ගෝමස් වනිගසේකර මහතා. මේ තමයි ඔහුගෙ අත්දැකීම්.

"හාමුදුරුවො ඉස්කෝලෙ යන කාලෙ ඉඳන්ම මම හොඳට දන්නවා. අපි ගල් ලෑල්ලයි ගල් කූරයි අරගෙන යන කාලෙ. අද වගේ නෙවෙයි ඒ කාලෙ ළමයි බොහොම අඩු ගණනක් හිටියෙ. ඒ කාලෙ අපි කතා කළේ අබේ අයියා කියල. අපි පහල පන්තිවල ඉන්නකොට අබේ අයිය අපිට ඉහල පන්තිවල හිටියෙ. හැමෝම වගේ ඔහුව හොඳට දන්නවා. ඒ කාලෙත් චරිතය හරිම අමුතුයි. ඉස්කෝලෙ හිටියත් පාරෙ තොටේ ගියත් තමන්ගෙ පාඩුවේ ඔහේ යනවා, හිනා වෙනවා, ඊට වැඩි දෙයක් නෑ. ඉස්කෝලෙදි කවදාවත් සෙල්ලම් කරනව මම දැකල නෑ. ළමයි එක්ක රණ්ඩු සරුවල් කරන ඒවා තිබුනෙත් නෑ. තමන්ගෙ පාඩුවේ ඉන්නවා. ඒ කාලෙත් ඔය වෙලාවල් බලනව වගේ කටයුතු කරන්න පුළුවන්කම තිබුනා. තනියෙන්ම ඒවාට නැඹුරු වීමේ ප්‍රවණතාවයක් තිබුනා. අපිත් ඉතින් හම්බ වෙන්න ගියාම ඒ ගැන අහනවා. ඉස්කෝලෙ සමිති වාර තියෙනකොට ඒවටත් සම්බන්ධ වුනා. ඒ දවස්වල බදාදට තිබ්ච්ච සමිතියේ මොනව හරි කතාවක් කරනවා. ගුරුවරුත් හරිම ආදරෙයි. ඉස්කෝලෙ යන කාලෙත් අමුතුම ගති ගුණ තමයි තිබුනෙ. කාටවත් කිසිම වරදක් නෑ. ගමේ බොහොම හොඳින් හිටපු කෙනෙක්. අපිට ඉතින් එච්චර දුරට ඉගෙන ගන්න බැරි වුනත් ඒ කාලෙ වෙච්ච දේවල් මතකයි.



හාමුදුරුවො ගිහි කාලෙ ගොවිතැනටත් බොහොම දක්ෂයි. පුදුම අත් ගුණයක් තිබුනෙ. මිරිස්, බටු එහෙම හොඳට සරුවට හැදෙනවා. මමත් ඉඳල හිටල ඒ පැත්තෙ ගියාම මටත් මිරිස් පැළ බටු පැළ එහෙම දෙනවා, මල්ලි මේක ගිහින් හිටවන්න කියල. ගිහින් හිටෙව්වම හරිම සාරෙට හැදෙනවා. ඒ අත්ගුණේ නිසා ඒ තරම් හොඳට හැදෙනවා.

හාමුදුරුවො ගිහි කාලෙ තුල්හිරියෙ පෙහෙකම්හලේ වැඩ කළා. මේ පැතිවල ඉතින් ඒ කාලෙ දැන් වගේ විදුලිය තිබුනෙත් නෑ. වැඩි ජනගහනයක් හිටියෙත් නෑ. වැඩට යනකොට දිග කුඩයක් අතේ තියාගෙන බොහොම අහිංසක විදිහට යනවා. නැවත හවසට එනවා. කිසිම සද්දයක් බද්දයක් නෑ. හැබැයි ඉතින් මහණ වෙලා පන්සලේ ඉන්නකොට ගමේ අයට නම් උන්වහන්සේ ගැන එච්චර වටිනකමක් තිබුනෙ නෑ. හාමුදුරුවො අපවත් වුනාම දැන් තමයි ගමේ මිනිස්සු හොඳ කියන්නෙ. ඉන්නකොට හුගක් අයට එච්චර අගයක් නෑ. උන්වහන්සේ ගමේ බණ කියන්න ගියෙත් නෑ. නමුත් වටේ තියෙන අනික් පන්සල්වලටත් උන්වහන්සේ උදව් කළා. අබ්බගාත ළමයෙක් හිටපු දුප්පත් පවුලකට බඩු මුට්ටුත් එක්ක ගෙයකුත් හදල දීල තියෙනවා. අපිට වුනත් ඒ කාලෙ කතා කරල පුළුවන් විදිහට උදව් කරනවා.

උන්වහන්සේ වැඩ හිටපු පන්සලට පිටින් සෙනග ආවට මුල් කාලෙ ගමේ අය නම් එච්චර ගියේ නෑ. ඒ ගැන වැඩිය ගණන් ගත්තෙ නෑ. මොකද ගමේම කෙනානෙ... මෙයා කොහොමද ඔහොම කරන්නෙ, එහෙම වෙන්නෙ කොහොමද... ඔය වගේ කතා තමයි ගමේ සමහරු කතා වුනේ. හැබැයි දැන් තමයි හුගක් අයට හාමුදුරුවන්ගෙ අගේ මතක් වෙලා තියෙන්නෙ. මේ ගමේ කඩපෙළ වුනත් මේ තරමට දියුණු වුනේ හාමුදුරුවො නිසා. මොකද බස් පිටින් ඇතින් සෙනග එන්න ගත්තම ඒ අයගෙ වෙළඳාමත් සරු වුනා. ඒක මේ කඩවල් කරන හුගක් අය පිළිගන්නවා.

උන්වහන්සේගේ දේහය පන්සලේ තැන්පත් කරල තියෙද්දි මමත් බලන්න ගියා. සාමාන්‍යයෙන් කෙනෙක් මැරුනම රූපය එන්න එන්න කළු වෙනවා. උන්වහන්සේගෙ එහෙම එකක් තිබුනෙ නෑ. වැඩිය දැන උගත්කමක් නැති වුනාට අපිට වුනත් ඒ වෙනස තේරෙනවා. ගමේ අයත් ඒ ගැන විශේෂයෙන් කතා වුනා.

හුගක් අය ආපු සෙනග දැකල

පුදුම වුනා. උන්වහන්සේට තිබුනෙ පුදුම බලයක්නෙ කියල සමහරු කතා වුනා. ඒක ආශ්චර්යක් විදිහට දකපු අයත් හිටියා. අපවත් වුනාට පස්සෙ ඇඟේ තිබ්බිච රස්නය ගැනත් ගමේ අයට ආරංචි වෙලා තැන තැන කතා වුනා. බලන්න එදා ආදාහනය දවසෙ හැන්දෑවෙ උන්වහන්සේගෙ හඬ පටිගත කරපු තැටියක් දාල තිබුනා. මමත් එදා තමයි ඒ වගේ දෙයක් ඇහුවෙ. මගේ හිතත් ඒකටම ඇදිල ගියා. සාමාන්‍යයෙන් අනික් හාමුදුරුවරුන්ට කියන්න බැරි තරම් වේගයකින් කියාගෙන ගියා. ඒක අමුතු ශක්තියක්."

.........................................................

උන්වහන්සේ පාසල් යන කාලෙ ඉඳන්ම දන්න කියන ගෝනගල්දෙණිය ගමේ පදිංචි ඩබ්. ඒ. නන්දාවතී උපාසිකා මාතාව තමන්ගෙ අත්දැකීම් විස්තර කළේ මේ විදිහට.

"උන්වහන්සේ අපිට වඩා වයසින් හුගක් බාල වුනත් එකම ගමේ ළඟ පාත නිසා පොඩි කාලෙ ඉඳන්ම විස්තර දන්නවා. ඉස්කෝලෙ යන කාලෙත් ඕනම බෞද්ධ වැඩකට උන්වහන්සේ තමයි ඉස්සරහින්ම හිටියෙ. ඒ කාලෙ ඉඳන්ම බොහොම තැන්පත් කෙනෙක්. දහමට අනුවම තමයි ජීවත් වුනේ. ඉස්කෝලෙදි කවදාවත් රණ්ඩු සරුවල් තිබිල නෑ. වෙන කවුරුහරි රණ්ඩු වුනත් ඒක සමාදාන කරන්නම තමයි හැම තිස්සෙම උත්සාහ කළේ. එහෙම ගති ස්වභාවයක් එදා ඉඳන්ම තිබුනා. ගමේ අයත් එක්කවත් කවදාවත් කිසිම ප්‍රශ්නයක් නෑ. කවුරුවත් පෞද්ගලිකව අමනාප නෑ. ඒ තරම් හොඳ කෙනෙක්.

උන්වහන්සේට ගිහි කාලෙ ඉඳන්ම වෙදකමත් හොඳට පිහිටල තිබුනා. අපි කිව්වෙ අබේරත්න මහත්තයා කියල. දවසක් අබේරත්න මහත්තයා බස් එකෙන් වැඩට යනකොට සෙනගට නගින්න බහින්න බස් එක අපේ ගෙවල් ළඟ නැවැත්තුවා. හරියටම මමත් ඒ වෙලාවෙ ඒ ළඟ හිටියෙ. මම කිව්වා, අබේරත්න මහත්තයෝ අනේ අපේ මහත්තයට පිළිකාවක් හැදිල හොඳටම අමාරුයි, මම එන්න හිතාගෙන ඉන්නෙ බෙහෙත් ටිකක් ගන්න කියල. එතකොටම ඇස් දෙක පියාගෙන මොහොතකින්, වැඩක් නෑ අක්කෙ කිව්වා. ඒත් මම පහුවදාම ගියා. වේයන්ගොඩ - කළගෙඩිහේන ප්‍රදේශයේ තවත් වෙද මහත්තයෙක් ළඟ තමයි ඒ වෙදකම් කළේ. ඒ වෙද මහත්තයට ගිහින් කිව්වම, අබේරත්න මහත්තය මෙයාට බේත් ටිකක් දෙන්න කිව්වා. ඉතින් මට බේත් ටික හදල දීල කිව්වා, අක්කෙ මේක තියල යන්න මම දන්න දේවල් මේකට කරල දෙන්නම් කියල. ඒ කියන්නෙ මොනවහරි ජීවම් කරල ශක්තියක් ගැබ් කරන්න තමයි එහෙම කිව්වෙ. ඉතින් මම කිව්වා, අනේ මහත්තය අද මැරෙයිද දන්නෙ නෑ ඕක මට දෙන්න කියල. ඒ පාර එහෙම්මම දුන්නා. කිසිම මුදලක් ගත්තෙත් නෑ. ඒක ගෙනත් එක වේලයි දෙන්න හම්බ වුනේ, කිව්ව විදිහටම මහත්තය නැති වුනා. පහුවදා මම ගිහින් කිව්වා, මෙන්න මෙහෙමයි මහත්තය නැති වුනා කියල. එතකොට මට කිව්වා, ඉතිරි බේත් ටික අක්ක බොන්න කියල. මමත් ඉතින් ඒ කිව්ව විදිහටම ඉතිරි බේත් ටික බිව්වා. දැන් මට වයස අවුරුදු 77 ක්. අද වෙනකල් ලොකු අසනීපයක් නැතිව ඉන්නවා. ඒ බේත්වලින් මොනවහරි ගුණයක් වෙන්න ඇති. ඉතින් ඒ කාලෙත් උන්වහන්සේට බොහොම ක්ෂණයකින් ඕනම තැනක ඉඳගෙන යමක් සමාධියෙන් බලල කියන්න පුළුවන්කම තිබුනා.

උන්වහන්සේ මහණ වෙච්ච අළුත මේ පන්සල අද වගේ හොඳට හදල තිබුනෙ නෑ. උඩ ආවාස ගෙයි තමයි අනුමෝදනාවත් කළේ. දවසක් ගමේ කෙනෙක් ගෙනිච්ච දානෙකට මමත් සහභාගි වුනා. ඉතින් අපි වාඩි වෙලා උන්වහන්සේ පුණ්‍යානුමෝදනාව කරගෙන යනකොට පිටිපස්සෙම අවුරුදු 10 - 12 ක ගෑණු ළමයෙකුත් වාඩි වෙලා හිටියා. උන්වහන්සේ අනුමෝදනාව ඉවර කරල, මේ ළමයට හරියට සෙම, පපුවෙ ලොකු අමාරුවක් තියෙනවා, ඉන්න මම බේත් ටිකක් දෙන්නම් කියල බෙහෙත් ගුලි 2 - 3 ක් දුන්නා මේක බොන්න කියල. මේ ළමයා ගෙදර ගිහින් ඒක බිව්වට පස්සෙ හොඳටම සනීප වෙලා. ඊට පස්සෙ හාමුදුරුවො හමුවෙන්න ඇවිත් කියල තිබුනා, හාමුදුරුවනේ මට හොඳටම ඒ බේතෙන් සනීපයි, අපේ තාත්තටත් සෙම තියෙනවා, ඉතිරි බේත් ටික දෙන්නද කියල. උන්වහන්සේ හා කිව්වලු. තාත්තටත් ඒකෙන්ම සනීප වුනාලු. ඒ විදිහෙ පුදුම අත් ගුණයක් වගේම, කෙනෙක්ගෙ ශරීරය ඇතුලෙ තියෙන ලෙඩ රෝගයක් වුනත් දකින්න පුළුවන් සමාධි හැකියාවක් උන්වහන්සේට තිබුනා. ඒ වගේම තව දවසක් අපි දානයක් ගෙනිහින් අනුමෝදනාවක් කරනකොට ඔය වගේ සිද්ධියක් වුනා. උන්වහන්සේ සමාධිගත වෙලා අනුමෝදනාව කරගෙන යන අතර එකපාරටම කාගෙ හරි නමක් කියල, අර අහවලා ඇවිත් එළියෙ ඉන්නවා, ඇතුළට අඬ ගහන්න කියල කිව්වා. ටික වෙලාවකින් ඒ අයත් ඇවිත් වාඩි වුනා. එතකොට තමයි අපි දන්නෙ, මෙහෙම කෙනෙක් ඇවිත් එළියෙ ඉන්නව කියල. අපිට පුදුමයි උන්වහන්සේ කොහොමද දැක්කෙ කියල. ඉතින් උන්වහන්සේට ඒක සමාධියට දැනිල වෙන්න ඇති ඒ ආපු කෙනා ඇස් දෙකෙන් දකින්නෙ නැතිව නම කියලම අඬ ගැහුවෙ.

ඉස්සර මුල් කාලෙ සෙනසුරාදා දවස්වල ආශිර්වාද පූජාව තමයි තිබ්බෙ. ඒ දවස්වල ඉතින් දැන් වගේ පන්සලට එන අනෙක් පිරිසට දානෙ ලැබුනෙ නෑ. ඉතින් දවසක් උන්වහන්සේ පිරිසට ඇහෙන්න කිව්වා, මොනවහරි ගෙනත් අනිත් අයටත් දීල බෙදාගෙන කන්න කියල. කවුරුවත් ඒක ඒ වෙලාවෙ ගණන් ගත්තෙ නෑ. මම ඉතින් දවසක් කිරිබත් කෑලි 50 - 60 ක් විතර හදාගෙන ඇවිත් ඉන්න පිරිසට බෙදුවා. ඒ කාලෙ එච්චර සෙනග හිටියෙත් නෑ. ටික දවසක් යනකොට කෑලි 75 ක් විතර හදාගෙන ගිහින් බෙදුවා. ඊළඟට ඉතින් මිනිස්සු දිගටම පූජාව දවසට දානෙ ගෙනත් බොහොම උනන්දුවෙන් දෙන්න පටන් ගත්තා. පූජාව දවස්වලට දානෙ බාර අරගෙන කවුරුහරි ඒක කරනවා. දානෙ වරදින්නෙ නෑ. බොහොම හොඳට ඒක කෙරීගෙන ගියා.

අද වුනත් අසනීපයක් හැදිච්ච වෙලාවට, නින්ද යන්නෙ නැති වෙලාවට, අභයරතනාලංකාර හිමියන්ගෙ සෙත් කිරීමේ බලයෙන්, ආශිර්වාද ගැන්වීමේ බලයෙන් මට සුවයක් ලැබෙන්න කියල ප්‍රාර්ථනා කළාම, එහෙම නැත්නම් පඬුරක් ගැට ගැහුවම ඒක හරියනවා. මම නම් ඒක දැනටත් කරනවා. ඉතින් උන්වහන්සේ මෙච්චර ඉක්මනට අපවත් වෙච්ච එක තමයි කණගාටුව.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්...)

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# ඒදා හෙළදිව පැවති රාෂ්ට පාලනය



රාෂ්ට පාලනය කියල රාජ්‍ය පාලන ක්‍රමයක් මේ හෙළදිව තුල ඉස්සර පැවතුනා. හැබැයි ඒ ක්‍රමවේදය මොකක්ද කියල අද පොත්පත්වලවත් කොහේවත් දැනගන්න සටහන් වෙලා නෑ. අපි අහල තියෙනවා, කෝටි පහක් ජනතාව ලංකාවෙ හිටිය කාලෙ සර්වාභරණයෙන් සැරසුනු කාන්තාවක් තනියම ලංකාවෙ එක කොනක ඉඳල අනෙක් කොනට කිසිම බයක් සැකක් නැතුව යවන්න පුළුවන් වුනා කියල. හැබැයි එහෙම වුනේ කොහොමද කියල අපි දන්නෙ නෑ. **පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින්, මේ පෙර කාලෙ සාමයෙන් බැබලුන දැහැමි පාලන ක්‍රමය සමාධියෙන් දැකල, අපි සියල්ලන්ටම දැනගන්න දේශනා කරල තියෙනවා. අද ඉන්න පාලකයන්ටත්, අනාගතයේ පහල වන පාලකයන්ටත් යම් ආදර්ශයක් ගන්නත් එක්ක ඒ කරුණු මේ විදිහට සටහන් කරනවා.**

රාෂ්ට පාලනය කියන්නෙ රජතුමා ඇතුළු කාණ්ඩ අටකින් යුත් පාලන ක්‍රමයක්. ලංකාවෙ කෝටි පහක ජනගහනයක් හිටිය කාලෙ, ගෙදරක සාමාන්‍යයෙන් පස් දෙනෙක් ඉන්නව කියල ගත්තොත්, මුළු රටේම ගෙවල් කෝටියක් තියෙනවා. දැන් මේ ගෙවල් දහයකට එක නායකයෙක් ඉන්නවා. ඒ නායකයට කිව්වෙ පත්තුවේ නායකයා කියල. නැත්නම් පත්තුවේ රජ්ජුරුවො කියල. පත්තුවේ රාජ පතිරාජ කියලත් හැඳින්වුවා. අද වුනත් පතිරාජ, අතපත්තු... ආදී නම් අහන්න ලැබෙනවා. ඒ වගේම ඉඩම්වල නම් විදිහට පල්ලෙ පත්තුව, ගිරුවා පත්තුව... ආදී වශයෙන් සඳහන් වෙනවා. ඒවා එදා තිබුන ක්‍රමවේදයෙන් අද දක්වා ඉතුරු වෙලා තියෙන සාක්ෂි. දැන් මේ ගෙවල් දහයෙ ඉන්න සියල්ලෝම මේ නායකයගෙ අණට යටත්. ඔහුට මහ රජතුමාගෙන්, නැත්නම් රජයෙන් ඒ බලය ලැබිල තියෙනවා. ඒ නිසා ඔහුට ඕනෑම වෙලාවක මේ ගෙවල් දහය පරික්ෂා කිරීමේ බලය තියෙනවා. මේ විදිහට ගෙවල් කෝටියට නායකයො දස ලක්ෂයක් පත් කර ගන්නවා. ඒ අයට තියෙන්නෙ තමන්ට වෙන් කරල දීල තියෙන ගෙවල් දහය පරික්ෂා කිරීම. ඔවුන්ගෙ රැකියාව හෙවත් රාජකාරිය තමයි ඒ ගෙවල් පරික්ෂා කරල සියලු දේ සටහන් කිරීම.

ඒ ගෙවල් දහයෙ තියෙන සියලු වත්කම් ඒ නායකයා දැන ගත යුතුයි. කාටවත් කිසිවක් හංගන්න බෑ. හැංගුවොත් රාජ විරෝධියි. නොදන්වා වත්කමක් තියා ගත්තොත් රාජ දඬුවමට ලක් වෙනවා. හැබැයි මේ ක්‍රමයෙ හැටියට එහෙම හංගන්න ඉඩක් ලැබෙන්නෙ නෑ. රජය දැනුවත්ව ඕනෑම වත්කමක් තියාගන්න අවසර තියෙනවා. නොදැනුවත්ව කිසිවක් තියා ගන්න බෑ. ඕන දෙයක් ගන්න, පරිහරණය කරන්න නිදහස තියෙනවා. රාජ විරෝධී නොවන, සමාජ විරෝධී නොවන ගැළපෙන දේවල් පරිහරණය කරන්න පුළුවන්. හැබැයි සියල්ල පත්තුවේ නායකයා දැනගෙන සිටිය යුතුයි. ගෙදර කීදෙනෙක් ඉන්නවද, කවුද ඉන්නෙ, නම් ගම්, මොනවද කරන රැකී රක්ෂා... ආදී සියලු විස්තර පත්තුවේ නායකයා සටහන් කරනවා. මේ නායකයා මේ ගෙවල් දහය දවසකට වතාවක් හෝ කිහිප වතාවක් හෝ පරික්ෂාවට ලක් කළ යුතුයි. ඒක තමයි ඔහුගෙ රාජකාරිය. ඔහුට වෙන වැඩක් නෑ. ඒ ගෙවල්වලට පිටින් කවුරුහරි ආවොත් නායකයා දැනගන්නවා. මොකද ඔහු ඒ අසළමයි ඉන්නෙ. ආගන්තුකයෙක් ආවොත් නායකයාට දැනුම් දිය යුතුයි, හංගන්න බෑ. අහවල් කෙනා අපේ ගෙදරට ආවා, ඒ අපේ නෑයෙක්, මෙන්න නම, අහවල් ගමේ අහවල් පත්තුවේ ඉඳල ආවෙ... ආදී වශයෙන් දැනුම් දෙනවා. පත්තු නායකයා ඒ අය ආපු වෙලාව, නැවත ගිය වෙලාව... ආදී සියල්ල සටහන් කරගන්නවා. ඕන කෙනෙකුට යන්න එන්න නිදහස තියෙනවා. හැබැයි දැනුම් දෙන්න ඕන.

දැන් මේ ගෙවල් දහයෙ සියලු වත්කම් නායකයා දන්නවා. ගෙදරට අමතර යමක් ගෙනාව නම් නීත්‍යානුකූලව ගෙනල්ල, මෙන්න මේ දේ ගෙනාව කියල තුණ්ඩුව නායකයට දෙන්න ඕන සටහන් කරගන්න. ඒ කියන්නෙ වියදම් කරන ඒවා පවා නායකයා දන්නවා. තමන්ට ඕන විදිහට වියදම් කිරීමේ නිදහස තියෙනවා. හැබැයි ආදායම කීයද, වියදම කීයද, ඉතුරු කීයද කියල නායකයට දැනුම් දිය යුතුයි. දැන් මොනවහරි අලුත් දෙයක් ගෙනල්ල නායකයට දැනුම් නොදී ඉන්න බෑ. ගේ පරික්ෂාවෙදි ඒ සියල්ල අහු වෙනවා. එතකොට මේක කොහෙන්ද ගෙනාවෙ, මුදල් කොහෙන්ද, ගණන් පියවල තියෙනවද... ආදී සියලු ☞

විස්තර නායකයට දැනුම් දිය යුතුයි. මේක තමයි පහළම මට්ටමේ රට පුරාම ඉන්න පත්තු රජවරුන්ගෙ රාජකාරිය.

දැන් මේ පත්තු නායකයන් දහ දෙනෙක් බලාගන්න එක නායකයා බැගින්, පත්තු නායකයින් දස ලක්ෂය බලාගන්න ඊට ඉහළ මට්ටමේ නායකයන් ලක්ෂයක් පත් කරනවා. පත්තු නායකයින් තමන්ට ඉහළින් ඉන්න නායකයන්ට ඔවුන්ගෙ සියලු වත්කම්, ආදායම්, වියදම් දැනුම් දිය යුතුයි. හැමතිස්සෙම එක නායකයෙකුට බලාගන්න තියෙන්නෙ ගෙවල් දහයක් නිසා ඔවුන්ට අපහසුවකින් තොරව රාජකාරිය කරන්න පුළුවන්. දැන් මේ ලක්ෂය බලාගන්න ඊට ඉහළින් තවත් දස දහසක් නායකයින් පත් කරනවා. මේ නායකයො දස දහස බලාගන්න ඊට ඉහළින් දහසක් නායකයින් පත් කරනවා. ඒ දහස බලාගන්න ඊටත් ඉහළින් නායකයො සියයක් පත් කරනවා. ඒ සියය බලාගන්න නායකයො දහයක් පත් කරනවා. ඒ අවසන් නායකයින් දහය බලාගන්න රජතුමා ඉන්නවා. ඔය විදිහට කොටස් අටකින් යුතු පාලන ක්‍රමයක්. **අටක් එකතු කරල රටක් පාලනය කරපු ක්‍රමයට තමයි රාෂ්ට පාලනය කියල කිව්වෙ.**

රජතුමාට රට වැසියන්ට යමක් දැනුම් දෙන්න ඕන නම්, රජතුමා යටතේ ඍජුවම පාලනය වෙන නායකයො දහ දෙනාට දැනුම් දෙනවා. ඒ අය ඔවුන්ගෙ පාලනය යටතේ ඉන්න නායකයන්ට දැනුම් දෙනවා. ඔය විදිහට දවසක් ඇතුලත රාජ නියෝගය හැම ගෙදරකටම, නැත්නම් සියලු රට වැසියන්ටම දැනුම් දෙන ක්‍රමයක් ඒ කාලෙ තිබුනා. කිසිම කෙනෙකුට හොරෙන් ප්‍රදේශයකට ඇතුල් වෙන්න බෑ. ගමකට ගෙවල් සියයක් තියෙනවා. ඒ කියන්නෙ පත්තු දහයක්. මේ විදිහට ගෙවල් සියයෙන් සියයට ගමක් තියෙනවා. ඒක කොටු කරල වැටක් බැඳල තියෙනවා. ගම් කොටුව කියල ඒක හැඳින්වෙනවා. ගමට පිවිසෙන්න ගම් දොරටුවක් තියෙනවා. මේ දොරටුවෙන් ඇතුලට එන අය, පිටතට යන අය එතන සටහන් කරල යා යුතුයි. වැට අස්සෙන් යාම් ඊම් කිරීම සපුරා තහනම්. එහෙම කළොත් ඒක දඬුවම් ලැබෙන වරදක්. ගමරාල තමයි ගමේ නායකයා. පත්තු නායකයින් දහ දෙනා බලාගන්න එක තමයි ඔහුගෙ රාජකාරිය. ගමරාල ඉන්නෙ ගම් දොරටුව අසළ නිවසක. රටේ රාල, දිසාවෙ රාල, මහ දිසාවෙ රාල හෙවත් අධිකාරම්, මහ ඇමති... යන නම්වලින් ඉහළ නායකයින් හැඳින්වුවා. ගමරාලගෙ නිල රථය වුනේ රේස් කරත්තය හෙවත් ගොන් බැඳි කරත්තය. රටේ රාලගෙ වාහනය වුනේ කොටළුවෙක්. දිසාවෙ රාලට වාහනය වුනේ අශ්වයෙක්. ඒ වගේම වැව්, පොකුණු, ඇල, වේලි... ආදී කටයුතුවලට පත් කරපු වෙනම නිලධාරින් හිටියා.

මේ ක්‍රමයෙදි කිසිම විදිහකට රාජ්‍ය විරෝධී, සමාජ විරෝධී දෙයක් කරන්න බෑ. කොහේවත් හැංගිලා කුමන්ත්‍රණය කරන්න බෑ. දෙන්නෙකුට රහසිගතව එකතු වෙන්න බෑ. රහසිගතව සංවිධානය වෙන්න බෑ. මොකද හැම ගෙදරකම දවස ගානෙ සිද්ධ වෙන සියල්ල අදාළ නායකයො දන්නවා. පිටස්තර කෙනෙක් ගමකට ආවොත් ඒ පුද්ගලය ආවෙ මොකටද කියල දන්නවා. සැක නම් ආපු ගමට පණිවිඩයක් යවල දැනගන්නවා. කොහෙන්ද ආවෙ, මොකටද ගියේ, කොහාටද ගියේ කියල සටහන් වෙලා තියෙනවා. ඒ පුද්ගලය අහවල් ගමට එනව කියල එහෙන් එන්න ඕන. පිටත් වුන වෙලාව එහේ සටහන් වෙනවා. ආපු වෙලාව මෙහේ සටහන් වෙනවා. අතරමග වංචාවක් හොර වැඩක් කරන්න විදිහක් නෑ. හොරෙන් භාණ්ඩයක් මංකොල්ල කාල හරි තමන්ගෙ ගෙදර තියාගන්න ක්‍රමයක් නෑ. එහෙම වුනොත් නායකයට උත්තර දෙන්න වෙනවා. හොරකමක් වෙන්න විදිහක් ඇත්තෙම නෑ. හැබැයි ඕනෑම වත්කමක් තියාගන්න, පරිහරණය කරන්න කිසිම බාධාවක් නෑ. ඕනෑම තොරතුරක් ඉක්මනින් හොයාගන්න පුළුවන්. මොන වංචාව කළත් ගෙවල් පරීක්ෂාවෙදි අහු වෙනවා. කොතැනකින්වත් කිසිම අවැඩක් කරන්න විදිහක් නෑ.

මේ පාලන ක්‍රමයෙදි අද රජය අය කරනව වගේ විවිධ සංකීර්ණ බදු අය කිරීම් නෑ. බදු බර හරිම අඩුයි. පාලනය බෙදිල ගිහින් ලිහිල් වෙලා තියෙන්නෙ. අද වචනවලින් කියනව නම් විමධ්‍යගත පාලනයක්. රට වැසියන්ට ඕනෑම ගැළපෙන රැකියාවක් කරන්න නිදහස තියෙනවා. ගොවිතැන වෙන්න පුළුවන්, නැත්නම් වෙනත් කර්මාන්තයක් වෙන්න පුළුවන්. හැබැයි ගෙදරක ආදායමෙන් 20% ක් පත්තු නායකයට දෙන්න ඕන. පත්තු නායකයට වැටුප් දෙන්නෙ රජයෙන් නෙවෙයි. නායකයා කැමති නෑ ගෙවල්වල කට්ටිය කිසිම වැඩක් නොකර කම්මැලිකමට ඉන්නවට. ඒක ඒ අයට පාඩුවක්. ඒ නිසා නිෂ්පාදනය අඩාල වෙන්න ඒ අය ඉඩ තියන්නෙ නෑ. **අද වගේ සියල්ල පිට රටින් එනකල් බලාගෙන හිටියෙ නෑ. රට ස්වයංපෝෂිතයි. ඒ නිසා විදේශ විනිමය අවශ්‍ය වුනේ නෑ. කාටවත් යටත් වෙන්න ඕනත් නෑ.**

පත්තු නායකයා ඔහුට ලැබෙන ආදායමෙන් 20% ක් ඊට උඩින් ඉන්න නායකයා වන ගමරාළට ගෙවනවා. මේ ක්‍රමයට රජතුමා දක්වා පහළින් ඉන්න හැම කෙනෙක්ම 20% ක් උඩින් ඉන්න නායකයට ගෙවනවා. කාටවත් පැහැර හරින්න බෑ. අද කාලෙ වගේ අනිත් අය හොරට බදු ගෙවන නිසා අපිත් ආදායම අඩුවෙන් පෙන්වල බදු අඩුවෙන් ගෙවනව කියල එකක් කරන්න බෑ. සියල්ලන්ම සමානව බදු ගෙවනවා. බදු එකතු කිරීමත් රාජ්‍ය පාලනයත් හරිම පහසුයි. අද වගේ සංකීර්ණ වුනේ නෑ. ගෙවල්වල නිෂ්පාදනයේ වගකීම බලාගන්න ඕන පත්තු නායකයා. මොකද රජයට ආදායම එන්නෙ ඔවුන් වැඩ කළොත් තමයි. හැමෝම ආදායමෙන් 80% ක් තියාගෙන 20% ක් තමන්ගෙ නායකයට ගෙවන්න ඕන. උදාහරණයක් විදිහට ගෙදරක සාමාන්‍ය ආදායම රුපියල් 2,000/= ක් නම් ගෙවල් දහයේ ආදායම රුපියල් 20,000/= යි. එතකොට නායකයට රුපියල් 4,000/= ක් ලැබෙනවා. ඒකෙන් 20% ක්, ඒ කියන්නෙ රුපියල් 800/= ක් ඔහු තමන්ගෙ නායකයට ගෙවන්න ඕන. මේ විදිහට රජතුමා දක්වා යනවා. ඒක තමයි සියලුම නායකයින් තමන්ගෙ රාජකාරිය ඉටු කිරීම වෙනුවෙන් ලැබෙන වැටුප. ඒක නිකං ඉඳල ගන්න එකක් එහෙම නෙවෙයි. ඔවුන් රජයට වග කියන්න ඕන.

සාමාන්‍ය රට වැසියා හැරුනම විසාල ආදායම් ලබන අයත් ඉන්නවා. ඒ අය සිටුවරු නමින් හඳුන්වනවා. ඔවුන් විවිධ දැහැමි කර්මාන්ත කරන විසාල ධනයක් උපයන අය. ඔවුන් පාලනය කරන්නෙ පහළ මට්ටමේ නායකයන් නෙවෙයි. ඔවුන්ව පාලනය කරන්න රජතුමා පත් කරපු විශේෂ පාලන අධිකාරියක් තියෙනවා. සිටු ගෙවල්වල ආදායමෙනුත් කෙලින්ම 20% ක් රජයට ගෙවිය යුතුයි. ඒක මහා විසාල මුදලක්. ඒක තමයි රාජ භාණ්ඩාගාරයට යන්නෙ. ඒ ආදායමෙන් තමයි රජය අනෙකුත් වැඩ කටයුතු කරන්නෙ. ගමක ඉන්න කෝටි ගණන් ආදායම් ලබන අයට තමයි සිටු

තනතුරු ලැබෙන්නෙ. රජයේ විශේෂ පාලන අධිකාරිය තමයි ඔවුන්ගෙ වත්කම් පරීක්ෂා කරන්නෙ. සිටු ගෙදර වුනත් හොරෙන් මුකුත් තියාගන්න බෑ. ඕන තරම් පරිහරණය කරන්න පුළුවන්. හැබැයි රජය දැනුවත් වෙන්න ඕන. ප්‍රධාන වශයෙන් සිටුවරුන්ගෙන් ලැබෙන බදුවලින් තමයි රජයේ වියදම් පියවගන්නෙ. සිටුවරුන්ට තමන්ගෙ ව්‍යාපාර ඕන තරම් දියුණු කරන්න පුළුවන්. ඒකෙ කිසි ප්‍රශ්නයක් නෑ. **සාධාරණව කරන කිසිම දෙයකට අවහිරයක් නෑ.**

දැන් සිටුවරයෙක්ගෙ රෙදි වියන කර්මාන්ත ශාලාවක වැඩ කරන කෙනෙක් රෙදි කච්චියක් හොරකම් කළොත් එහෙම, අරගෙන ඇවිත් තියාගන්න තැනක් නෑ. පත්තු නායකයට ගෙවල් පරීක්ෂාවෙදි සියල්ල අහු වෙනවා. අමුතු ඇඳුමක් ඇන්දත් අහු වෙනවා. මොකද නායකයාට තියෙන්නෙ ගෙවල් දහයක් පරීක්ෂා කිරීම විතරක් නිසා පහසුවෙන් රාජකාරිය ඉටුවෙනවා. දැන් වගේ කසිප්පු පෙරනවා කියල එකක් කවදාවත් කරන්න බෑ. මත් කුඩු විකිණීමක් කරන්න බෑ. කාට විකුණන්නද? කවුද ගෙදරට එන්නෙ? ඇයි ගෙදරට සෙනග එන්නෙ? නායකයට කිසිවක් හංගන්න බෑ. මොනම විදිහකින්වත් අසාධාරණයක් කරන්න බෑ. **රජය කිසිම දුශ්චරිතයකට අනුබල දෙන්නෙ නෑ.** මේ ක්‍රමයට රටක් පාලනය වෙනකොට ගෙවල්වල දොරවල් ඇරල තිව්ව කියල ප්‍රශ්නයක් තියෙනවද? හොරකම් කරල කොහේ ගෙනත් තියාගන්නද? ආදායමට වඩා වියදම් කරන්න විදිහක් නෑ. අද වගේ CCTV කැමරා ඕන නෑ. එදා ගෙවල් දොරවල් ඇරල දැම්මෙ ඔය ක්‍රමයට. සර්වාභරණයෙන් සැරසුන කාන්තාවක් තනියම ලංකාවෙ එක කොනක ඉඳල අනෙක් කොනට කිසිම බයක් සැකක් නැතුව යවන්න පුළුවන් වුනේ මේ නිසා.

මේ ක්‍රමයට චරියාව හැඩ ගැහුනට පස්සෙ මනුස්සයින්ගෙ ගති ලක්ෂණ ඒකට හුරු වෙනවා. ඒ නිදහස් ජීවිතය මනුස්සයට හරි සුවයක් ගෙන දෙනවා. දුශ්චරිත සමාජයෙන් දුරු වෙනවා. අද වගේ කසාද බැඳපු කෙනෙකුට ගිහින් වෙන ගමක කසාදයක් කරගෙන ගෑනු අමාරුවෙ දානවා වගේ වැඩ කරන්න බෑ. හොරෙන් කසාද හතරක් පහක් කරගන්න බෑ. එහෙම කෙනෙක් ගමට ආව නම් නායකයා අදාළ ගෙහිමියගෙන් අහනවා, ඇයි ඒ කෙනා ගමට ආවෙ කියල. මගේ දුව කසාද බඳින්න ආවෙ කියල ගෙහිමියා කියනවා. එතකොට ගමේ නායකයා ඔහු ආපු තැනට පණිවිඩයක් යවල හොයල බලනවා. වංචාවක් නම් අහු වෙනවා. වංචාකාරයාව රජයට අල්ලල දෙනවා. මොන විදිහටවත් බොරුවෙන් වංචාවෙන් කටයුතු කරන්න බෑ.



මේ පාලන ක්‍රමයෙදි කිසිම හතුරෙක් හැදෙන්නෙ නෑ. කිසිම කෙනෙකුට භේද වෙන්න හේතු නෑ. ජාති වශයෙන් භේද වෙන්නත් බෑ. ආයුධ ගේන්න විදිහක් නෑ. අකටයුතුවලට සංවිධානය වෙන්න බෑ. අමුතු කිසි දෙයක් කරන්න බෑ. ගෙවල් දහය පරීක්ෂාවෙදි ඔක්කොම අහුවෙනවා. නායකයගෙ රාජ බලය නිසා විරුද්ධ වෙන්නත් බෑ. හොරු ඇති වෙන්න ඉඩක් නෑ. ඉඩම් අයිතිය රජය සතුයි. ඒ නිසා ඉඩම් කිසිවෙකුට විකුණන්න හෝ උකස් කරන්න හෝ හැකියාවක් නෑ. ඉඩම් මායිම් කටයුතු සැකසීම, ඉඩම් වෙන් කරල දීම රජය සතු කාර්යක්. ඒ නිසා සියල්ලන්ටම සමගියෙන් අනවශ්‍ය බයකින් සැකයකින් තොරව ජීවත් වීමේ පරිසරයක් මේ තුලින් නිර්මාණය වෙනවා. මේක තමයි නියම රාජ්‍ය පාලන ක්‍රමය. මේ ක්‍රමය මහා සම්මත රජ පරම්පරාවෙ ඉඳල පැවත එන ක්‍රමයක්. **සියල්ලෝම අලෝභයෙන් අද්වේශයෙන් ජීවත් වෙන කොට සියල්ලන්ටම ඒකෙ හේතුවේ ඵලය විදිහට සම්පත් ලැබීමත් රටට සමගියත් උදාවෙනවා.** මේ විදිහට දහයක් පාලනය කරල, ලැබිච්ච ආදායමෙන් අට කොටසක් යැපෙන මේ පාලන ක්‍රමය රාෂ්ට පාලනය කියල හැඳින්වුවා.

අද වල් බූරු නිදහසක් බුක්ති විඳිමින් ඉන්න, මේ කය බිඳුනු ගමන් අපායට යන්න නියමිත පිරිස නම් මේ ක්‍රමවේදය පිළිගන්න එකක් නෑ. මේ පාලනය දරදඬු, ඒකාධිපති, අසාධාරණ, නිදහස අවුරන වහල් පාලනයක් කියල ඔවුන් තර්ක කරාවි. **බුදු, පසේ බුදු, මහ රහත් උත්තමයන් වගේම මහා ඍෂිවරු කියපු සත් බස ඉවතලමින්, මෙලොවත් දූෂිතව කටයුතු කරමින් සතර අපාගත වෙන්න බලන් ඉන්න පෘතජ්ජනයන්ට නම් මත් පැන් පානය, දුම් වැටි ඉරීම, රේස් බුකි, සූදු, අනාචාර... ආදී සමාජ දූෂණවලට ඉඩ ඇහිරීම මහා දුකක් අසහනයක් විදිහට වැටහේවි.** මොකද ඔවුන්ට මෙලොව පරලොව පිං පවු, යහපත අයහපත පිළිබඳ අංශු මාත්‍රයකවත් වැටහීමක් නෑ. අද හිතාගෙන ඉන්නෙ ඒකාධිපති පාලනයක් කියන්නෙ හිතුමතේ කරන පාලනයක් කියල. හැබැයි එබඳු මිලේච්ඡ ඒකාධිපති පාලකයොත් ලෝකයේ රජකම් කරල තියෙනවා. ඒ සුචරිත මග පිරිහුනු කාලවල. **නියම ඒකාධිපති පාලනය කියන්නෙ, එකම ධර්මය අධිපතිත්වයේ තියාගෙන කරන දස රාජ ධර්මයෙන් යුතු පාලනය. පංච දුශ්චරිතයට අදාළ කිසිම කටයුත්තකට ඒ වගේ රජයක් අනුබල දෙන්නෙ නෑ.**

සුන්දර ලෝකයක ආසා පොදි කරගහගෙන කාමාස්වාදයෙන් මත් වෙච්ච මුළා වෙච්ච පිරිසක් බවට අද ඉන්න බෞද්ධයො පත් වෙලා. ඔවුන් රූප කාම, ශබ්ද කාම, ගන්ධ කාම, රස කාම, ස්පර්ශ කාම කියන පංච කාමයෙන් මත් වෙලා මුළු දවස පුරාම ඇලෙමින් ගැටෙමින් ලෝකයේ ලොකු ලොකු කැලි කඩාගන්න වෙර

දරමින් "පමාදෝ මච්චුනෝ පදං" කියන බුදු වදනට අනුව මළ කඳන් වගේ ජීවත් වෙන තත්ත්වයට පත් වෙලා ඉන්නෙ. අද වෙනකොට කාමුක වූ මුළා සහගත හිස් ප්‍රලාප පදවැල් ගොතාගෙන ගී සින්දු හදාගෙන නොයෙකුත් බාල් නැටුම් නටමින් ඒවාට නොයෙකුත් කාමුක සංගීතය යොදාගෙන වාදනය කරමින් තොරතෝංචියක් නැතුව රටේ හැම අස්සක් මුල්ලක් නැරම විවිධ ගුවන් විදුලි, රූපවාහිනී නාලිකා තුලින් පතුරවනවා. කිසිම සදාචාරාත්මක පාලනයකින් තොරව මේ හිස් වැඩ මේ වෙනකොට නැවත ගොඩගන්න බැරි තරමට පැතිරිලා අවසන්. **"ගීතය හැඬීමකි, සංගීතය මොර ගෑමකි" කියන බුද්ධ භාෂිතය අද පිළිගන්නෙ කවුද? ඒ වගේ කාමුක මුළා සංගීතයෙන්, රංගනයෙන් ලෝකයා මායා මුළාවකට ඇද දමන පිරිස මරණින් පසු පහාස කියන නිරයේ ඉපදිලා ගිනි ගෙන දැවෙන සංගීත භාණ්ඩ වාදනය කරමින් අපා දුක් විඳින බව ලොව්තුරා බුදුන් වහන්සේ ඉතා පැහැදිලිව තාලපුට සූත්‍රයේ දේශනා කරල තියෙනවා.** නූතන යුගයේ මියගිය බොහෝ නළු නිළියන්ට සහ සංගීතඥයින්ටත් උරුම වුනේ ඒ ඉරණමම බව දිවැස් සමාධි තියෙන උතුමන් පෙන්වා දීල තියෙනවා.

අද බොදුනු සමාජය කියල නමට කිව්වත්, බොහෝ පිරිසක් රෑ දවල් ජීවිතය ගෙවන්නෙ කලින් පෙන්වා දුන්න අනාර්ය ආහාර භුක්ති විඳිමින්. **අනාර්ය ගති ලක්ෂණ ප්‍රබල විදිහට මතු වෙලා ආරයෙන් පිට දේවල් කරන්න ගිහින්, මේ කාලයේ පොඩි වැස්සකට පවා ගංගා ඇල දොල පිටාර ගලන තත්ත්වයක් ඇතිවෙලා තියෙන්නෙ ඒ නිසා. රටේ වැඩි පිරිසක් ඩෙංගු නැටීම නිසා ඩෙංගු උණ වසංගතයක් විදිහට පැතිරීම මඳුරුවන් මරා දැමීමෙන් කොහොම නවත්වන්නද?** යම් කිසි විදිහකින් රටේ පාලක පක්ෂයත්, ප්‍රධාන නිලධාරි පිරිසත්, රට වැසියනුත් ආර්ය ගුණ මගක ගමන් කරන පසුතලයක් මේ ලක්බිම තුල උදා වුනොත්, අනාර්ය වුන මුළා සංගීත, නැටුම්, ගැයුම්, විලාසිතා, ලෝකයේ මහා ඉහළින් වර්ණනා කරන කෙළි සෙල්ලම්... ආදී ලෝභ මෝහ වැඩ අත්හැරල සුචරිත සමාජයක් බිහිවීම තුලින් පෙර කාලයේ පැවති සශ්‍රීකත්වය නැවතත් ළඟා කරගන්න පුළුවන්.

අවසන් වශයෙන්, **රටක රජතුමා ඇතුළු මුළු පාලන තන්ත්‍රයම ධාර්මික වෙනව නම් ඒ රටට සශ්‍රීකත්වය උදා වෙන හැටිත්, මනුස්සයින්ගෙ ලෙඩ රෝග දුරු වෙලා අල්පාබාධ ඇතිව දීර්ඝායුෂ ලබන හැටිත්, ඒ වගේම එහෙම නොවෙනකොට රටක් පිරිහෙන හැටිත්, ලෙඩ රෝග ඇතිවෙලා මනුස්සයින් අල්පායුෂ ලබන හැටිත් බුද්ධ දේශනාවේ සඳහන් වෙන බව,** අද ඉන්න පාලකයන්ටත් රට වැසියන්ටත් දැනගන්න අංගුත්තර නිකායේ දෙවන කාණ්ඩයේ 140 පිටුවේ එන <u>අධම්මික සූත්‍රය</u> මේ විදිහට ගෙන හැර දක්වනවා.

"මහණෙනි, යම් කලෙක්හි රජ දරුවෝ අධාර්මික වෙත්ද, එකල රාජ පුරුෂයෝද අධාර්මික වෙති. රාජ පුරුෂයන් අධාර්මික වූ කල බ්‍රාහ්මණ ගෘහපතීහුද අධාර්මික වෙති. බ්‍රාහ්මණ ගෘහපතීන් අධාර්මික වූ කල නිගම ජනපද වාසීහුද අධාර්මික වෙති. නිගම් ජනපද වාසීන් අධාර්මික වූ කල චන්ද්‍ර සූර්යෝ විසමව වැටෙත්. විසමව චන්ද්‍ර සූර්යන් වැටෙනා කල නක්ෂත්‍ර තාරකා රූපයෝ විසමව වැටෙත්. විසමව නක්ෂත්‍ර තාරකා රූපයන් ප්‍රවෘත්ත වූ කල රෑ දවල් විසමව පවතිත්. විසමව රෑ දවල් පවත්නා කල මාස අර්ධ මාසයෝ විසමව පවතිත්. විසමව මාස අර්ධ මාසයන් පවත්නා කල ඍතු සංවත්සරයෝ විසමව පවතිත්. විසම ඍතු සංවත්සරයන් පවත්නා කල දැඩි හෝ මඳ වූ, නොමග ගත් වාත විසමව හමයි. දැඩි හෝ මඳ වූ, නොමග ගත් වාත විසමව හමන කල්හි දේවතාවෝ ප්‍රකුපිත වෙත්. දේවතාවන් ප්‍රකුපිත වූ කල මනා දහරින් වැසි නොවසියි. වර්ෂා සම්‍යක් ධාරායෙන් නොවස්නා කල ශස්‍යයෝ විසමව පැසෙත්. මහණෙනි, විසමපාකී ශස්‍යයන් වළඳ කරන මිනිස්සු අල්පායුස්ක වෙත්. දුර්වර්ණ වෙත්. දුර්වල වෙත්. බොහෝ ආබාධ ඇතිද වෙත්.

මහණෙනි, යම් කලෙක රජ දරුවෝ ධාර්මික වෙත්ද, එසමයෙහි රාජ පුරුෂයෝද ධාර්මික වෙත්. රාජ පුරුෂයන් ධාර්මික වූ කල බ්‍රාහ්මණ ගෘහපතීහුද ධාර්මික වෙත්. බ්‍රාහ්මණ ගෘහපතීන් ධාර්මික වූ කල නිගම් ජනපද වාසීහුද ධාර්මික වෙත්. නිගම් ජනපද වාසීන් ධාර්මික වූ කල සඳ හිරු දෙදෙනා සමව පවතිත්. සමව සඳ හිරු දෙදෙනා පවත්නා කල නක්ෂත්‍ර තාරකා රූපයෝ සමව පවතිත්. සමව දිවා රෑ පවත්නා කල මාස අර්ධ මාස සමව පවතියි. සමව මාස අර්ධ මාස පවත්නා කල ඍතු සංවත්සර සමව පවතී. සමව ඍතු සංවත්සර පවත්නා කල අවිසමව වූ නිසි මග ගත් වාතයෝ සමව හමත්. අවිසමව වූ නිසි මග ගත් වාත සමව හමන කල දේවතාවෝ ප්‍රකුපිත නොවෙත්. දේවතාවන් ප්‍රකුපිත නොවූ කල වර්ෂා සම්‍යක් ධාරායෙන් වෙත්. මහණෙනි, මිනිස්සු සමපාකී ශස්‍ය ඵලයන් වළඳ කරන්නාහු දීර්ඝායුස්කද වෙත්. වර්ණවත්ද වෙති. බලවත්ද වෙති. අල්පාබාධාද වෙති.

තරණය කරන ගොනුන් අතුරෙහි ප්‍රධාන ගවයා කුටිලව යේනම් ඒ නායක ගවයා කුටිලව ගිය කල්හි සෙසු හැම ගවයෝ කුටිලව යෙත්.

**එපරිදිම මිනිසුන් අතුරෙහි යම් මිනිසෙක් ශ්‍රේෂ්ඨ යැයි සම්මත වේ නම් හෙතෙම අධාර්මිකව හැසිරේ නම් ඉතිරි ප්‍රජාවද එසේමය. රජ නොදැහැමි වේ නම් මුළු රටම දුක්ඛිත වේ.**

තරණය කරන ගොනුන් අතුරෙහි ප්‍රධාන ගවයා අකුටිලව යේනම් නායකයා ඍජුව යත්ම ඒ හැම ගවයෝ ඍජුව යෙත්.

**එපරිදිම මිනිසුන් කෙරෙහි යම් මිනිසෙක් ශ්‍රේෂ්ඨ යැයි සම්මත වේද හෙතෙම දහමෙහි හැසිරේ නම් ඉතිරි ප්‍රජාවද එසේමය. රජ ධාර්මික වේ නම් මුළු රටම සුඛිත වේ.**

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් නැවත මතු කරන ලද සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**චතුර හිඳුරංගලගේ**
**නුගේගොඩ**
**0777 302407**

## අරි සිතුම් සුව සෙත වෛද්‍ය සායනය

සුගතිය, නිවන පූර්ණ කර ගැනීමේ පහසුව පිණිස ගිලාන ප්‍රත්‍ය කටයුත්තක් වශයෙන්, පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමියන් විසින් බෙහෙත් සමාධියෙන් මතු කරනු ලැබූ ඖෂධ හා ප්‍රතිකාර ක්‍රම ඇසුරින් කෙරෙන, අරි සිතුම් සුව සෙත වෛද්‍ය සායනය සෑම ඉරිදා දිනකම උදෑසන 7.00 සිට වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේදී සහ අනුරාධපුර, ගල්කඩවල, බාලදක්ෂ මාවතේ පිහිටි අරියචින්තාශ්‍රම හෙළ බොදු සෙනසුනේදී පැවැත්වෙන අතර රෝග විමර්ශනය සහ සියලු රෝග සඳහා ඖෂධ ප්‍රතිකාරද කරනු ලැබේ. වැඩි විස්තර සඳහා පහත දුරකථන අංකවලින් විමසන්න. 077 774 1478 / 077 162 0072



# පෙළ දහමේ සැඟවුනු තැන් සොයා... 04

**අංගුත්තර නිකාය - 3**

<u>සික්ඛා පච්චක්ඛාන සූත්‍රය - 9 පිටුව</u>

යමෙකුට කුසල ධර්මයෙහි ශ්‍රද්ධා, හිරි, ඔතප්, වීර්ය, ප්‍රඥා ඇත්නම් හැඬූ කඳුලින් දොම්නස් සහිතව වෙසෙතත්, පැසසිය යුතු පංච සහධාර්මිකයෝ ළඟා වෙති.

<u>කාමේසු පලාලිත සූත්‍රය - 11 පිටුව</u>

දරුවෙකුගේ උගුරෙහි යමක් හිර වුවහොත්, මව ගිරියට ඇඟිල්ල දමා අදිනු ඇත. දරුවාට වේදනා වුවත් එය යහපතටය. එසේම, තථාගතවරු මහණ හට කුසල ධර්මයෙහි ශ්‍රද්ධා, හිරි, ඔතප්, වීර්ය, ප්‍රඥා ලැබෙන තුරු රකිති. ලැබුණු පසු ඔවුන් පමාවට නොනිසි වෙයි. තථාගතවරු ඉන්පසු ඔවුන් කෙරෙහි අපේක්ෂා නොකරති.

<u>පංචාංගික සමාධි සූත්‍රය - 39 පිටුව</u>

ප්‍රථම ධ්‍යානයේදී කරජ කය ප්‍රීති සුඛයෙන් තෙමෙන හැටි සහ සමාධි ලබන විට දැනෙන ආකාරයන් පෙන්වයි.

<u>සුමනා සූත්‍රය - 53 පිටුව</u>

දන් දීම, පින් කිරීම අරිහත්වයට පත්වන තුරුම ආධාර වන බව පෙන්වයි.

<u>සීහසේනාපති සූත්‍රය - 61 පිටුව</u>

දානයේ මෙලොව ආනිසංස අත්දකීම් තුලින් තමන්ටම වැටහෙන බවත්, පරලොව සුගතිගාමී වීම ශ්‍රද්ධාවෙන් අදහන හැටිත් පෙන්වයි.

<u>පුත්ත සූත්‍රය - 67 පිටුව</u>

මාපියෝ පුතෙකු ලැබීමට කැමති කරුණු 5 ක් පෙන්වයි. දෙමව්පිය පෝෂණය, දෙමව්පියන්ගේ කටයුතු කර දීම, කුල පරපුර රැකීම, දායාද රැකීම, පරලොව ගියවිට දන් පින් දීම.

<u>භෝග ආදිය සූත්‍රය - 73 පිටුව</u>

ආර්ය ශ්‍රාවකයා භෝග පරිහරණය කරන අයුරු සහ අවිප්‍රතිසාරයට හේතු සිහි කරන අයුරු පෙන්වයි. තමා පෝෂණය, පෝෂණයට නිසි අය පෝෂණය කිරීම, ආපදාවලදී ප්‍රයෝජනයට ගැනීම, බ්‍රහ්මචාරී උතුමන්ට උපස්ථාන කිරීම, අග්‍ර දක්ෂිණා දීම ඇතුළු පංච බලි පැවැත්වීම.

<u>ඉට්ඨ ධම්ම සූත්‍රය - 75 පිටුව</u>

ඉෂ්ඨ කාන්ත මනාප දුර්ලභ කාරණා 5 කි. ආයු, වර්ණ, සැප, යසස්, ස්වර්ග සම්පත් යන මේවාය. පැතූ පමණින් මේවා නොලැබේ. දන් පින් කිරීමෙන් නොපැතුවත් ලැබේ. එය පණ්ඩිතයෝ පසසත්.

<u>මනාපදායී සූත්‍රය - 77 පිටුව</u>

විසල්පුර උග්‍ර ගෘහපති බුදු රජුන් කරා එළඹ, මනාප දෑ දන් දෙන අයට මනාප දෑ ලැබේ යන බුදු වදන අනුව කැවුම්, ඩෙබර පලමුසු සූකර මස් ව්‍යංජනය, ගිතෙලින් පිසූ නැලිපලා, සූප ව්‍යංජන සහිත ඇල් හාලේ බත්, කසී සළු පිළි ගැන්වූ බවත්, බුදු පියාණන් වහන්සේ ඒවා පිළිගෙන අනුමෝදනා කළ බවත්, උග්‍ර ගෘහපති පසුව ධ්‍යාන සිතින් මියගොස් බ්‍රහ්ම දේව කායක් ලැබූ බවත් සඳහන් වේ. ඉන් පසු බ්‍රහ්ම දේවයෙක්ව විත් බුදුන් වහන්සේ හමු වූ අයුරු සහ දාන ආනිසංස අපමණ ලැබූ බවත් පවසා ඇත.

<u>අකුසලරාසී සූත්‍රය - 103 පිටුව</u>

හුදු අකුසල් රැසට කියන තවත් නමකි, පංච නීවරණ.

<u>ඨාන සූත්‍රය - 113 පිටුව</u>

ස්ත්‍රී, පුරුෂ, පැවිදි සැම විසින් නිතර ප්‍රත්‍යවේක්ෂා කළ යුතු කරුණු 5 කි.

- ජරා ස්වභාව ඇතියෙමි, ජරාව නොඉක්ම වූයෙමි.
- ව්‍යාධි ස්වභාව ඇතියෙමි, ව්‍යාධිය නොඉක්ම වූයෙමි.
- මරණ ස්වභාව ඇතියෙමි, මරණය නොඉක්ම වූයෙමි.
- මාගේ හැම ප්‍රියයන් කෙරෙන්, මනාපයන් කෙරෙන් නානා භාවයට (නානත්වයට), විනා භාවයට (විනාසයට) පත්වේය.
- කර්මය ස්වකීය කොට, දායාද කොට, උප්පත්ති කොට, නෑයා කොට, පිළිසරණ කොට ඇතියෙක් වෙමි. කළණ (හොඳ) වේවයි, ළාමක (නරක) වේවයි, යම් කර්මයක් කරන්නේ නම් එයම දායාද වේ.

<u>ලිච්ඡවී කුමාර සූත්‍රය - 123 පිටුව</u>

ලිච්ඡවී කුමාරවරු බුදු රජුන් පයිරුපාසනය කරනු දුටු මහානාම කුමරු, ලිච්ඡවීහු වැඩෙන්නාහු යැයි ප්‍රීති වාක්‍ය පළ කළ විට අභිවෘද්ධියට හේතු වන කරුණු 5 ක් බුදු පියාණෝ දේශනා කළහ. එනම් දැහැමින් උපයා ගත් දෙයින්,



# නාම ගෝත්‍ර හෙවත් මතක සටහන්...

මේ මාතෘකාව යටතේ හෙළ බොදු පියුම 5, 54, 57, 59 කලාපවලින් මීට පෙරත් කරුණු ඉදිරිපත් කරල තියෙනවා. ඒ පිළිබඳව අපට දැනෙන විදිහට කෙරෙන තවත් වැඩිදුර කරුණු පැහැදිලි කිරීමක් තමයි මේ. යම් කිසි සත්ත්වයෙක් / පුද්ගලයෙක් හෝ ද්‍රව්‍යයක් / වස්තුවක් ගත්තම සුද්ධාෂ්ටක කෝටි ගණනක් සම්බන්ධ වෙලා තමයි එකක් විදිහට පේන්නෙ. යම් කිසි සිද්ධියක් නම්, අතීත සිද්ධි කෝටි ගණනක් සම්බන්ධ වෙලා එකක් විදිහට පේනවා. ඒකෙන් සම්මතයේ තියෙන යමක් හඳුන ගන්නවා. ඒක එක මාත්‍රයකින් හඳුන ගන්න බෑ. මනෝ විඤ්ඤාණ කෝටි ප්‍රකෝටි ගණනක් එකතු වෙලා දංවැලක් වගේ බැඳෙනවා. මනෝ විඤ්ඤාණයකට අතීත, වර්තමාන, අනාගත තුන් කාලයම අරමුණු වෙනවා. ඒ නිසා සියල්ල එකක් විදිහට පේනවා. දංවැල් පුරුකෙන් පුරුක ඇමිණුවම, නැති දංවැලක් ඇති හැටියට පේනවා. දංවැලක පුරුක දංවැලක් නෙවෙයි. දංවැලක හැටි පුරුකකින් පෙන්වන්න බෑ. පුරුක් එකින් එක ඇමිණිලා ආවම දංවැලක් පේනවා. හැබැයි දංවැලක් හැදුවෙ නෑ, පුරුක් ඇමිණීමයි කළේ. ඒකෙන් අවසානයට පෙනුණෙ දංවැලක්. ඒක මායාවක්.

මේ වගේ විඤ්ඤාණයත් මායාවක්. රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන්නෙ පංචස්කන්ධය. හැබැයි අනිදස්සනං අප්පටිගං ධම්මායතන පරියාපන්න රූපං කියන තැනදි නාම ගෝත්‍ර හරහා මතකයට නැගෙන එකත් රූපයට අයිතියි. නමුත් නාම ගෝත්‍ර කිව්වම නාම මිසක් රූපවලට සම්බන්ධ නෑ. නාම ගෝත්‍ර / මතක සටහන් කියන්නෙ නාමවලත් නාම මූලයක්. නාමයන්ගෙන් ගොඩනැගිච්ච දේක මියගිය කොටස් කියල ගන්නත් පුළුවන්. මෘත + කය - මතකය, මැරිච්ච කය කියන අදහස ගන්නත් පුළුවන්.

ආනන්තරීය පාප කර්ම, ගරුක කර්ම වගේ කර්ම ශක්තිය බලවත් ඒවා තිබුනොත් මේ නාම ගෝත්‍ර සමනන්තරය හදාගෙනම ඇදිල ඇවිත් මනසට ධර්ම අරමුණු වෙනවා. එහෙම නැත්තම් අපි සමනන්තරයක් හැදුවොත් තමයි නාම ගෝත්‍ර හරහා ධර්ම අරමුණු වෙන්නෙ. කර්ම වේගය බලවත් නම් නාම ගෝත්‍රත් එක්ක තියෙන කර්ම ශක්තියෙන්ම සමනන්තරයත් ගොඩනගනවා. ඒ ගොඩනගපු සමනන්තරය තුළ අපිට අරමුණු වෙනවා. එතකොට අපිට එන අරමුණ අනුව අපිට ඕන තීරණ ගන්න බෑ, අර ශක්තියෙන්මයි අරමුණ ගොඩනගන්නෙ. හැබැයි දිවැස්, දිව කන්වලින් යොමු කරල බලනව කියන්නෙ වෙනම ක්‍රමයක්. ඒක ඕනකමින් බලන එකක්. ඒත් නාම ගෝත්‍රම තමයි බලන්නෙ. **නමුත් කර්ම විපාකයක් එනකොට අපි කැමති වුනත් නැතත් ඊට අදාළ අරමුණු එනවා.**

යම් කිසි කෙනෙක් ආනන්තරීය පාප කර්මයක් කළත් ඔහුට අපායෙ යන්න බලාපොරොත්තුවක්, කැමැත්තක් නෑ. මම අතින් එහෙම දෙයක් වෙලා නෑ, ඔය කිව්වට ඒක එහෙම වෙන්නෙ නෑ, මම පිං කරල ☞

---

මව්පිය පෝෂණය, අඹු දරු දැසි දස් කම්කරු පෝෂණය, ස්වාමිවරු පෝෂණය, පුද පිළිගන්නා දෙවියන්ට පූජා සත්කාර කිරීම, මහණ බමුණන් පෝෂණය... යන පසයි.

<u>පත්තනා සූත්‍රය - 251 පිටුව</u>

කරුණු 5 කින් යුතු දෙටු රජ කුමරු රජය පතන්නේය. කරුණු 5 කින් යුතු භික්ෂුව නිවන පතන්නේය.

**දෙටු රජ කුමරුන්ගේ කරුණු 5**

1. (අ) මව්පිය දෙපසින් සුද්ධ වීම
   (ආ) පිරිසිදු මව් කුස් ඇති වීම
   (ඇ) සත්මුතු පරපුරක සුද්ධතාවය
   (ඈ) අනූප කෘෂ්ට බව (නින්දා රහිත බව)
2. දැකුම්කළු අභිරූපී බව
3. මාපියනට මනාප වීම
4. ගම් දනව් වැස්සන්ට මනාප වීම
5. ශිල්ප දැනුම

**භික්ෂුවගේ කරුණු 5**

1. බුදු ගුණ ඇදහීම
2. අල්පාබාධ බව - ආහාර දිරවීම
3. අමායා බව - සටකපට නොවීම
4. රුකුළුවෙර ඇති වීම
5. උදයව්‍ය ප්‍රඥාව

***පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් දින පොතක සටහන් තබන ලද කරුණු ඇසුරිනි.***

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

තියෙනවා....... ඔහොම අදහස් තමයි ගන්න බලන්නෙ. සමහර විට ඔහු පිං අරමුණු ගන්න උත්සාහ කරන්නත් පුළුවන්. නමුත් මොනව කළත් හරියන්නෙ නෑ. අර පාප කර්මයට පල දෙන්න අවශ්‍ය කර්ම, කර්ම නිමිති, ගති නිමිති ඒ කර්ම ශක්තියෙන්ම මතු කරල දෙනවා. එහෙම මතු කරල සමනන්තරය හදනවා. හැදුන ගමන් අනන්තර වශයෙන් හැදිල තිබ්බ්ච ශක්තිය ඇදල ඇවිත් වේගවත් කරනවා. ඒ ප්‍රත්‍ය දෙක එකතු වෙනවා. අනන්තරය විසින්ම සමනන්තරයත් ගොඩනගල සම්බන්ධ කරල දෙනවා. ආහාරයක් අන්තර්ගත වෙන්න ඕන නෑ කියන එකයි ආනන්තරික කියන්නෙ. ඒ කියන්නෙ සාමාන්‍ය අවස්ථාවලදි, යම් කිසි විපාකයක් ඇදල එන්න නම් අරමුණක් එන්න ඕන. ඒ අරමුණ ආවම තමයි ඒක ආහාර කරගෙන ඊට අනුකූල ඒවා ඇදල එන්නෙ. නමුත් ආනන්තරික පාප කර්ම වගේ බලවත් කර්මවලට එහෙම අරමුණක් / ආහාරයක් එන්න ඕන නෑ. න + අන් + අන්තරික - ආහාරයක් අඩංගු වෙන්න ඕන නෑ. අනන්තරය විසින්ම සමනන්තරයත් ගොඩ නගාගෙනමයි විපාක දෙන්න එන්නෙ. අමුතුවෙන් සමනන්තරයක් හදන්න ඕන නෑ. ගරුක කර්ම විදිහට ගැනෙන ධ්‍යානත් ඒ විදිහට සුදුසු වෙලාවට ඇදිල එනවා. ඒකත් ආනන්තරික වගේ.

ඒ නිසා ආනන්තරීය පාප කර්ම කරපු කෙනෙක් මග ඵල ලබන්නෙත් නෑ, මග ඵල ලබපු කෙනෙක් සතර අපා ගත වෙන්නෙත් නෑ. මොකද ආනන්තරීය පාප කර්මයක් කළොත් ඒකාන්තයෙන්ම සතර අපා ගතවීම නියමයක්. මග ඵල ලාභියෙක් අපා ගත වෙන්නෙ නෑ කියන එකත් නියමයක්. ඒ නිසා මේ කාරණා දෙක ඒ විදිහටයි සිද්ධ වෙන්න ඕන.

එතකොට මේ නාම ගෝත්‍රවල ශක්තියක් තියෙනවා. ඒක හරියට කාන්දමක් වගේ. උදාහරණයක් විදිහට ගල් කැටයක් උඩ විසි කළොත්, උඩට විසි වුන ශක්තිය ගෙවිල ගියාට ඊළඟට පහළට එන ආකර්ශන ශක්තිය තියෙනවා. ඒ ශක්තියෙන් නැවතත් උඩ යන්නෙ නෑ. ගල් කැටය ක්‍රියාත්මක වෙනකොට ඒ ශක්තිය ගෙවිල ගිහින් ගල් කැටය ඉතිරි වෙනවා. ඉතින් ගල් කැටයක් කියන්නෙත් මෘත කයක් (මතකයක්) වගේ දෙයක් තමයි. ඒ ගල් කැටයට ප්‍රාණයක් නෑ. නමුත් ශක්තිය කා වද්දන්න පුළුවන්. ගලක් ගැහුවොත් ඒ ගහපු පැත්තට යනවා. යන්නෙ ශක්තියක් ගැබ් කරගෙන. ගල් කැටය ඇසුරු කරගෙනයි ඒ ශක්තිය තාවකාලිකව තියෙන්නෙ. හැබැයි ඒක ගලේ ශක්තියක් නෙවෙයි. අපි විසි කරනකොටයි ඒ ශක්තිය ලැබෙන්නෙ.

නාම ගෝත්‍රත් හරියට ගල් කැටයක් වගේ. **නාම ගෝත්‍රය වටා පිහිටන කර්ම ශක්තිය ගල් කැටයක් විසි කරනකොට පිහිටන ශක්තිය වගේ.** තවත් විදිහකට කියනව නම්, ඔරලෝසුවක් කරකවල (වයින් කරල) අත අහකට ගත්තත් ඒ ශක්තිය තියෙනකල් ඒක වැඩ කරනව වගේ. නාම ගෝත්‍රවලත් ශක්තිය ඉවත් වුනා කියන්නෙ කර්ම වේගය ඉවර වුනා කියන එක. හැබැයි නාම ගෝත්‍ර ඉතිරියි. ඕනනම් ඒක සිහි කරල ගන්න පුළුවන්. එකක් ඇවිත් පල දුන්නම තව තවත් ඒවා ඇදිල එනවා. ඇදිල පල දීපු එකේ ශක්තිය ඉවර නම් ඒක නැවත පල දෙන්න ඇදෙන්නෙ නෑ. විපාක ශක්තිය ඉවරයි. හැබැයි නාම ගෝත්‍රය ඉතිරියි. ඕන නම් ඒක මතක් කර ගන්න පුළුවන්. එතකොට අපේ කර්ම ශක්තියත් නාම ගෝත්‍ර ඇසුරු කරගෙනමයි පවතින්නෙ.

රහතන් වහන්සේලා පිරිනිවන් පානකොට සතර මහා භූතයන්ගෙන් හැදිච්ච ධාතූන් වහන්සේලා හැර කිසිම දෙයක් ඉතිරි වෙන්නෙ නෑ. හැබැයි උන් වහන්සේලාගේ නාම ගෝත්‍ර පරපුර ඉතිරියි. ඒවත් ලෝකයට අයිතියි. ලෝක විෂයට අයිතියි. නමුත් මේ නාම ගෝත්‍රත් එක්ක දුකේ සම්බන්ධයක් නෑ. මේකෙන් පෙන්වා දෙන්නෙ, යම් කිසි දෙයක් තිබ්බ්ච පලියට ඒකෙන් දුකක් එන්නෙ නැත්නම් ඒක අපිට ප්‍රශ්නයක් නෑ කියන කාරණය. බුදුන් වහන්සේ පිරිනිවන් පෑවත් නාම ගෝත්‍ර ඉතිරියි. හැබැයි ඉතිරි වුණයි කියල ඒ නාම ගෝත්‍ර නැවතත් දුකක් ගෙනත් දෙන්නෙ නෑ. පංචස්කන්ධයක් ගොඩ නැගුණොත් තමයි දුක දෙන්නෙ. ඊට පස්සෙ පංචඋපාදානස්කන්ධය ගොඩනැගුවම මතුවටත් දුක දෙනවා. ඒ නිසා ඒ මොහොතේ පංච උපාදානස්කන්ධ නිරෝධයයි, මතුවට පංචස්කන්ධ නිරෝධයයි කියන කාරණා දෙක තමයි බැලුවෙ.

පංචස්කන්ධය කියන්නෙ දුක්ඛස්කන්ධයක්. ඒක ලෝකයට අයිතියි. පෙර දුක් විඳපු බව දැනගන්නෙ නාම ගෝත්‍රවලින්. හැබැයි ඒක දැන ගත්ත කියල ඒ කෙරෙහි ඡන්ද රාගයක් (උපාදානයක්) නැත්නම් දැන් ඒකෙන් දුකක් එන්නෙ නෑ. දුක්ඛස්කන්ධයට අයිති කොටස තමයි ලෝකය තුළ පෙන්වන්නෙ. එතකොට සියල්ල දුකයි කියල ගත්තම, නාම ගෝත්‍රත් "සියල්ල" කියන එකට අහු වෙන අවස්ථාවක් එනවා. මොකද **සිය + අල්ල කියන්නෙ මමත්වයෙන් අල්ල ගත්ත කොටස.** ධර්ම සහ මනෝ විඤ්ඤාණත් "සියල්ල" කියන කොටසට අහුවෙනවා. ඒ කියන්නෙ නාම ගෝත්‍ර හරහා ධර්ම අරමුණු මනසට සට්ටනය වෙලා මතක් කරල දෙනවා. එතකොට ඒවත් එක්ක ඇලිල ගැටිල මමත්වයක් එන්න පුළුවන්. ඒ නිසා අනිච්ච, දුක්ඛ, අනත්ත කියන කොටසට නාම ගෝත්‍රත් අයිතියි.

හැබැයි කවුරුවත් නාම ගෝත්‍ර හෙවත් මතක සටහන් "මගේ" කියල අල්ලගෙන නෑ. ලෝකයේ තියෙන ඇහැට, කනට, නාසයට, දිවට, කයට අරමුණු වෙන අනෙක් ද්‍රව්‍ය වස්තු අල්ල ගන්නව වගේ නාම ගෝත්‍ර අල්ලගෙන නෑ. මොකද ඒවා නිකං මතකයන් විතරයි. නමුත් මතක් වෙනකොට ඒ ආශ්‍රයෙන් සංඛාර ගොඩනගල ඇලෙන්න ගැටෙන්න පුළුවන්. උදාහරණයක් විදිහට, කාලයකට පෙර තමන්ට පහර දීපු, දොස් කියපු කෙනෙක් දකිනකොට ඒ අතීතය මතක් වෙලා නැවතත් ඒ පුද්ගලයත් එක්ක ද්වේශයක් ඇවිත් ගැටෙන්න පුළුවන්. එතකොට ඇදිල එන්නෙත් නාම ගෝත්‍ර හෙවත් මතක සටහන්. **ලොවන්න තියෙන දේ ක්ෂය වෙලා යන අර්ථයෙන් ලෝකය කියනවා. නාම ගෝත්‍ර ක්ෂය වෙලා යන්නෙත් නෑ. දිරල බිඳිල යන දෙයකුත් නෙවෙයි. නමුත් ඇසුරු කරන්න ගිහින් බය හෙවත් පහත් තත්ත්වයට පත්වෙන්න පුළුවන්. ඒ නිසා නාම ගෝත්‍රත් මේ කියන ලෝකයට අයිතියි.** නාම ගෝත්‍ර හෙවත් මතක සටහන් දැනෙන්නෙ අරමුණු වෙලා විද්‍යමාන වුණොත් විතරයි. දැනෙනව නම් ඒ දැනීම ලෝකයට අයිතියි. හැබැයි දැනීම නාම ගෝත්‍ර නෙවෙයි. දැනෙන්නෙ නැති දෙයක් දුක ගෙනත් දෙන්නෙ නෑ. විඳින්නාට දුක පනවමි කියලයි බුදුන් වහන්සේ පෙන්වා දුන්නෙ. සිහි කරනකොට වේදනාවක් ආවොත් මිසක් නාම ගෝත්‍ර නිකං ඉන්නකොට දුක ගෙනත් දෙන්නෙ නෑ. දැනීමක් නැත්නම් දුකක් නෑ.

එතකොට නාම ගෝත්‍ර තිබුනයි කියල අපිට ගැටළුවක් නෑ. මොකද අපිට ඡන්ද රාගයක් නැත්නම් මේ නාම ගෝත්‍රත් එක්ක අවිද්‍යාවේ තණ්හාවේ සම්බන්ධයක් නෑ.

ඡන්ද රාගයක් නැගුණොත් තමයි අවිද්‍යාවයි, තණ්හාවයි සම්බන්ධ වෙන්නෙ. ඒ නිසා ඒවා නිකං තියෙනකොට අපි භවයට ඇදල දාන්න පුළුවන් කමක් නෑ. රූපයක් දැක්කම අඳුන ගන්නෙ ඊට පෙර නාම ගෝත්‍ර අරමුණු කරල ඒ සංඥාවෙන්. අලුතින්ම කෙනෙක් දැක්කත්, මේ මනුස්සයෙක් කියල ඉස්සෙල්ලම අඳුන ගන්නෙ නාම ගෝත්‍රවලින්. ඒ නිසා යමක් බලන්න නම් මොහොතක් පාසා නාම ගෝත්‍ර ඇසුරු කරන්න ඕන. මොකද තත්පරයක් යනකොට තත්පරයක් අතීතයට ගිහින් ඉවරයි. ඒ තත්පර එකක් අතීතයට ගිය නාම ගෝත්‍රයෙන් තමයි ඒ ටික ඇදල ගන්නෙ. අතීත නාම ගෝත්‍ර රැහැන ඇදල අරගෙන තමයි ඒ අදාළ රූපය මනසින් නිර්මාණය කරන්නෙ.

කවදාවත් නොදැකපු දෙයක් දැක්කත්, දැකපු වෙලේ ඉඳන්ම ඒක අතීතයට යනවා. එතකොට ඒ හැම එකක්ම සටහන් වෙනවා. ඒ සටහනෙන් තමයි නැවත මතකය ගන්නෙ. මේ වගේ රැහැන් මොහොතක් ගානෙ හට ගන්නවා, බිඳෙනවා. බිඳුනම ඒක එතැන නෑ. නමුත් මනසෙ තිබ්බච සටහන තමයි රූපයක් මතු කරල දෙන්නෙ. එතකොට ඒ මොහොතක හිටපු ආකාරය තමයි ගන්නෙ. උදාහරණයක් විදිහට යමෙක් "ජයසේන" කියල ආමන්ත්‍රණය කළාම අපට හිතෙන්නෙ එවෙලෙ කිව්ව කියල. නමුත් ඉස්සෙල්ලම "ජ" කිව්වා, ඊළඟට "ය" කිව්වා, "සේ " කිව්වා, අන්තිමට "න" කිව්වා. දැන් "ය" කියන කොට "ජ" ශබ්දය නෑ. "සේ" කියන කොට "ජ, ය" ශබ්ද නෑ. "න" කියන කොට "ජ, ය, සේ" අකුරු තුනේ ශබ්ද නෑ. ''ජයසේන'' කියල ඉවර වුණාට පස්සෙ අකුරු හතරෙම ශබ්දය ගිහින් ඉවරයි. දැන් අපි කියනවා, "ජයසේන" කිව්ව කියල. කැටි කරල කිව්වෙ කොහොමද? කැටි කළේ අපිමයි. අපේ මනසින්. මනසින් අපි ගොතලයි කිව්වෙ.

එතකොට මේ නාම ගෝත්‍ර කියන්නෙ සුද්ධාෂ්ටක නෙවෙයි. සුද්ධාෂ්ටක කියන ඒවා කවදාහරි විනාස වෙලා යනවා. නාම ගෝත්‍ර අයිති වෙන්නෙ තනිකරම නාම ධර්මවලට. ඒ කියන්නෙ වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන ඒවා. ඒ අවස්ථා 4 ත් ඉක්මවා ගියාමයි නාම ගෝත්‍ර වෙන්නෙ. ඒවා කර්ම විපාකවලට අනුව හෝ හිතල මතල හෝ අරමුණු කරල ගෝචර වුණාම තමයි ධර්ම සට්ටනය වෙලා අපි නැවතත් සංඛාර කරල චිත්තජ රූප නිපදවන්නෙ. ඒ නිපදවෙන්නෙ ඒ ඒ මොහොතේ කර්ම ශක්තිය, චිත්ත ශක්තිය මුල් කරගෙන. අරමුණු වෙන්නෙ නාම ධර්ම වශයෙන්. පැරණි නාම ගෝත්‍ර සියල්ලම මනසින් අරමුණු කරන්න පුළුවන්. ඒවා කලින් තිබ්බච රූපත් නෙවෙයි. ආවර්ජනය කළාම පේන දේවල්. ඒ අනුව ඒවා ගොඩනැගෙනවා. එතකල් සටහන් විදිහට තියෙන්නෙ.

උදාහරණ විදිහට කැසට් පටියක හඬ නැති වුණාට ක්‍රියාත්මක කළාම හඬ ඇහෙනවා. කැසට් පටියෙ තියෙන්නෙ වෙනම තරංග. ඒ වගේ මනෝ තරංගයක්, නාම තරංගයක් තමයි නාම ගෝත්‍රවලට තියෙන්නෙ. අතීතය මතක් කරන්න පුළුවන් නිසා ඒක නෑ කියන්න බෑ. නමුත් ඒකත් එක්ක රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණවල සම්බන්ධයක් නෑ. හැබැයි ඒවා මාධ්‍ය කරගෙන තමයි නාම ගෝත්‍ර අරමුණු කරන්නෙ. යමක් එතැන නොතිබුණා නම් යමක් අරමුණු කරන්න බෑ. තිබ්බච නිසාමයි අරමුණු වෙන්නෙ. හැබැයි ඒක තිබුණ පළියටම අපේ සසර ගමනට සම්බන්ධයක් නෑ.

බුදු දහම තියෙන්නෙ කායික විපාක දුකින් නිදහස් වෙන්න නෙවෙයි, ලෝකයේ තියෙන මානසික දුකින් නිදහස් වෙන්න. එහෙම නැතිව පිරිනිවන් පාන කල් මේ භෞතික ලෝකයේ තියෙන කායික විපාක දුකින් සම්පූර්ණයෙන්ම නිදහස් වීමක් නෑ. රහත් වුණත් පිරිනිවන් පානකල් (ස්කන්ධ පරිනිර්වාණය දක්වා) ඒ කායික විපාක දුක තියෙනවා. කයට සා පිපාසා එනවා. නොයෙක් ලෙඩ රෝග, වේදනාවන් එනවා. හැබැයි කෙලෙස් පරිනිර්වාණයත් එක්කම උපාදානස්කන්ධ දුක (මානසික දුක) ඉවරයි. පංචස්කන්ධ දුක ඉවර වෙන්නෙ පිරිනිවන් පෑමෙන්. නාම ගෝත්‍ර කොච්චර කල් තිබුණත්, ඒවා නිපදවපු කෙනා පිරිනිවන් පාල නම් ඒකෙන් දුක් විඳින සත්ත්වයෙක් නෑ. අපේ අතීත මතක සටහන් තිබුණට, නිවන් පූර්ණ කරල එයින් එහාට අත්බැව් ඉවර නම් ඒ මතක සටහන්වලින් දුක් විඳින්නෙක් නෑ. එතකොට ඒ මතක සටහන් ක්‍රියාත්මක වෙන්න විදිහක් නෑ.

පිරිනිවන් පෑ සියලු බුදුවරයන් වහන්සේලාගේ නාම ගෝත්‍ර / මතක සටහන් තවම තියෙනවා. නමුත් ඒ නිසා දුක් විඳින්නෙක් නෑ. උන් වහන්සේලාගේ අත්බැව් ඉවරයි. හැබැයි අනෙක් කෙනෙකුට අවශ්‍ය නම් ඒ මතක සටහන් නැවත අරමුණු කරන්න පුළුවන්. එහෙම අරමුණු කරල තමන්ගෙ තියෙන දෘෂ්ටිවලට අනුව වේදනාවක් හදාගන්නත් පුළුවන්. ඒකට ඡන්ද රාගයෙන් බැඳෙන්නත් පුළුවන්. බුදුවරයෙකුට ඕන නම් අතීතයේ පිරිනිවන් පෑ බුදුවරයෙකුගෙ නාම ගෝත්‍ර බලන්න පුළුවන්. කාගෙන්වත් අහල නෙවෙයි, උන් වහන්සේලාගේ ඥානයෙන්මයි. උන් වහන්සේලාගෙ නම් ගම්, අම්ම තාත්ත, පිට දුන් බෝධින් වහන්සේලා, බුදු වුණ හැටි.... මේ ආදී සියල්ලම විද්‍යමාන කරගන්න පුළුවන්. එතකොට ඒ විද්‍යමාන කරන්නෙ මොකෙන්ද? නාම ගෝත්‍ර /



මතක සටහන් තිබ්බච නිසා. හැබැයි මතක සටහන් තිබුණට ඒවායින් කවදාවත් දුක් විඳින්නෙක් හදන්නෙ නෑ. අපි දුක් විඳින්නෙ ඡන්ද රාගය මුල් කරගෙන තව දුරටත් අත්බැව් හදන නිසා. අත්බැව් හැදීම නතර වෙන එකයි නිවන් පූර්ණ කළාම වෙන්නෙ.

කෙනෙකුට කියන්න පුළුවන්, ඒත් නාම ගෝත්‍ර

හෙවත් අතීත මතක සටහන් සිහි කරල ඒ අනුසාරයෙන් දුකක් ගොඩනගන්න පුළුවන් නේද කියල. පුළුවන්. නමුත් නාම ගෝත්‍ර වුණත් මතු කරල ගන්නෙ මොකෙන්ද? පංචස්කන්ධයෙන්. ඒ නිසා නාම ගෝත්‍ර සිහි කරන්නත් පංචස්කන්ධය තියෙන්න ඕන. **නාම ගෝත්‍ර සිහි කරන්න පංචස්කන්ධය ඕන වුණාට, පංචස්කන්ධය නැති වුණා කියල නාම ගෝත්‍ර නැති වෙන්නෙ නෑ.** රහතුන් වහන්සේ නමක් පිරිනිවන් පෑවත් ඒ නාම ගෝත්‍ර තිබුණට ඒවා අරමුණු වෙලා නැවතත් දුකක් දෙන්න කෙනෙක් නෑ. ජීවත් වෙලා ඉන්න කෙනෙකුට විතරයි අතීතය සිහි කර කර දුක් වෙන්න පුළුවන්. ඒකත් තම තමන්ගෙ තියෙන දෘෂ්ටිවලට අනුව සිහි කළොත් තමන්ම රාගයෙන්, ද්වේශයෙන්, මෝහයෙන් පටිච්ච වෙලා දුකක් හදා ගන්නව මිසක්, ස්වභාවයෙන්ම එන විපාක දුකක් නෙවෙයි, නිරෝධ කරන්න පුළුවන් දුකක්. ඒ නිසා රහතන් වහන්සේ නමකට අතීත නාම ගෝත්‍ර අරමුණු වුනත් උන්වහන්සේ ඒවායින් දුක් විඳින්නෙ නෑ.

එතකොට නාම ගෝත්‍රවලින් දුකක් එන්නෙ සසරෙ ඡන්ද රාගයෙන් සැරිසරන කල් විතරයි. ඒකත් ඒ ඒ අයගෙ ඒ ඒ මොහොතෙ තියෙන දෘෂ්ඨිය අනුව තමයි තීරණය වෙන්නෙ. ඒ නාම ගෝත්‍ර සිහි කරනකොට ඒ ඒ මොහොතේ තියෙන දෘෂ්ටිය අනුවයි ඒකෙන් සැප, දුක් හෝ මධ්‍යස්ථ වේදනා එන්නෙ. උදාහරණයක් විදිහට **පැරණි කාම සංකල්පනා (මතක සටහනක්)** අරගෙන **අනාගාමී කෙනෙකුට හෝ රහතන් වහන්සේ නමකට හෝ ඒකෙන් කාම සතුටක් ලබන්න බෑ. මොකද උන් වහන්සේලාට ඒ දෘෂ්ඨිය ඉවරයි. නමුත් රාග, ද්වේශ, මෝහවලින් තොරව සිහි කරන්න පුළුවන්.** ඒවාට බැඳීමක් නෑ. ඒ කියන්නෙ රාග, ද්වේශ, මෝහවලින් ඒවාට බැඳෙන තරමට තමයි ඒවායින් වේදනා එන්නෙ. ඉතින් ඒ අනුව බැලුවම මේ නාම ගෝත්‍ර භව ගමනට සම්බන්ධයි. නාම ගෝත්‍ර නැත්නම් මොනම දෙයක්වත් කරන්න බෑ. ඉදිරි අනාගතයේ හැම දෙයක්ම කරන්නෙ අතීත නාම ගෝත්‍ර සිහි කරල, ඒවා උපනිශ්‍රය කරගෙන. හැබැයි ඒ නාම ගෝත්‍ර ඇසුරු කරගෙන දුක් විඳිනව කියන කාරණය ඒ ඒ පුද්ගලයින්ගෙ හිතේ තියෙන දෙයක්. මොකද ඒක නිරෝධ කරන්න පුළුවන්.

තවත් උදාහරණයක් ගත්තොත්, සඳකිඳුරු ජාතකය දේශනා කරනකොට, බුදුන් වහන්සේ පෙර අත්බවයක යශෝධරා දේවිය සමග කිඳුරයි කිඳුරියි වෙලා හිටපු හැටි, බරණැස් රජතුමා කිඳුරට හීයෙන් විද්ද හැටි, කිඳුරිය දුක් වෙච්ච හැටි, පතිවත ආරක්ෂා කළ හැටි...... මේ ආදී වශයෙන් බෝසතාණන් වහන්සේගෙ පෙර අත්බවයක ස්වභාවය තමයි විස්තර කළේ. ඒ විස්තර කළෙත් නාම ගෝත්‍ර/ මතක සටහන් සිහි කරල. නමුත් උන් වහන්සේට ඒ මතක සටහන්වලින් දුකක් හෝ සතුටක් හෝ ආවෙ නෑ. හැබැයි යශෝධරා දේවිය ඒ වෙනකොට රහත් වෙලා හිටපු නැති නිසා ඒ සමහර කාරණා අහල දැඩි දුක් වේදනාවකුත්, තවත් සමහර කාරණා අහල දැඩි සතුටකුත් ඇති වුනා කියල ධර්මයේ සඳහන් වෙනවා.

එතකොට මේ නාම ගෝත්‍ර කියන්නෙ ඡන්ද රාගයට හේතුවන සංයෝජනීය ධර්ම මිසක් සංයෝජන නෙවෙයි. ඒ කියන්නෙ සංයෝජනයට හිතකරයි. රාග, ද්වේශ, මෝහ සහිතව මතක් කරල සිහි කරනකොට ඒවා සංයෝජ වෙනවා. එහෙම වුනොත් සසර ගමනට බලපානවා. ඒ නිසා මේ නාම ගෝත්‍ර සිහි කිරීම පවා අනිමිත්ත විමෝක්ෂයට අයිති නෑ කියල පෙන්වනවා. නාම ගෝත්‍ර වුනත් ඡන්ද රාගයෙන් සිහි කළොත් ඒක අනිමිත්ත විමෝක්ෂයක් වෙන්නෙ නෑ. එතකොට ඒක සසරට හේතු වෙනවා. නාම ගෝත්‍ර ආශ්‍රිත කර්ම ශක්තිය ගෙවිල ඉවර වුනත්, ඡන්ද රාගයෙන් සිහි කළොත් ඒක සසර ගමනට බලපානවා. අනෙක් කාරණය තමයි, ඒ සිහි කිරීම මුල් කරගෙන නව කර්මත් නිපදවෙනවා. හරියට අපි පිනක් කරල ඒක හොඳින් සිහි කරල තවත් පින් වැඩි කර ගන්නව වගේ. පවක් වුනත් එහෙමයි. එතකොට බුදුන් වහන්සේ නාම ගෝත්‍ර සිහි කළේ ඡන්ද රාගයෙන් තොරව. රහතන් වහන්සේ නමක් වුනත් එහෙමයි. අනිත් අයට වුනත් ඡන්ද රාගයෙන් තොරව සිහි කරන්න පුළුවන් නම් ගැටළුවක් නෑ. ඒ කියන්නෙ ඒකට ඇලීමක් ගැටීමක් නැතිව.

වස්තු රූපයට යමක් ඝට්ටනය වුණාම 17 වතාවක් කම්පනය වෙනවා. ඒකට කියන්නෙ හෘද රූපය කියල. ඒකට තියෙන්නෙ චිත්තක්ෂණ 17 ක ආයුස. ඒ වගේම තත්පරයක් කෝටි ලක්ෂයකට බෙදුවම ඒකෙන් එක පංගුවක් තරම් කාලයක් චිත්තක්ෂණයක ආයුස වෙනව කියලත් අභිධර්ම ග්‍රන්ථවල සඳහන් වෙනවා. ඒ විදිහට මොහොතකින් අවසන් වුනත්, පැවැත්මේ කර්ම ශක්තිය ක්‍රියාත්මක වෙලා අලුත් අරමුණු ඇවිත් හෘද රූප නිපදවමින් මේ ක්‍රියා කලාපය ගෙනියන ඡන්දරාගය හෙවත් තෘෂ්ණාව ඇති සත්වයා සංසාර ගමන නොකැඩී අනන්ත සංසාරයේ පටන් ගෙන එනවා, බලාපොරොත්තු ඇතිකර ගන්නවා. **සාරත්වයක් ලබන්න අවශ්‍ය වුණත්, ලබාගත්ත හෝ ලබාගෙන සම්පූර්ණ කරගත්ත දවසක් හෝ නෑ. හැමදාම පරීක්ෂණ කරනවා, හොයනවා, අහනවා, දැනගන්නවා. නමුත් අහල ඉවරත් නෑ, දැනගෙන ඉවරත් නෑ. මෙච්චර කල් සසරෙ ආවත් හොයපු දේ ලබාගෙන සෑනසිලත් නෑ. මට නම් හරි, මට නම් හොඳයි ලැබුණ කියනවා. නමුත් අනන්ත සංසාරයේ හරි කිව්ව, හොඳයි කිව්ව, ලැබිල පැවතිච්ච එකක්වත් නෑ. රැවටෙන බව මිසක් ''හොඳයි, ප්‍රියයි, මනාපයි, ලැබුණා, මට හොඳටම ඇති''... මේ ආදී වශයෙන් මොනව කිව්වත් පිපාසයට බීපු වතුර වගේ එවෙලෙට ඇති කියනවා, හරි කියනවා. නමුත් පිපාසය ඇරිල නෑ, හරි ගිහින් නෑ. එවෙලෙට අඩු වුණා වගේ පෙනිල විතරයි. අනාගතයේ ලබන බලාපොරොත්තු අපමණයි. නමුත් බලාපොරොත්තු වෙච්ච ඒවා කොච්චර ලැබිල ඇත්ද? ආපස්සට හැරිල අතීතය බැලුව නම් බලාපොරොත්තුව පුස්සක්, හිස් දෙයක් කියල පේනවා.** දැන්වත් හිතල බලල මේ රැවටිල්ල ඉවත් කරගත්ත නම් මේ හිස් ගමන කෙළවරයි. එයින්ම නිවෙනවා. ඒ තමයි නිවන. ඒක පෙන්වන්න තමයි ලොව්තුරා බුදුවරු ලෝකයට පහල වෙන්නෙ. නමුත් ලෝක සත්ත්වයා ඒක පැත්තක තියල වෙන වෙන දේවල්මයි කරන්නෙ.

ශ්‍රී සද්ධර්මය පරම දුර්ලභයි, මනුස්ස අත්බවයක් ලැබීම අති දුර්ලභයි කිය කියා ඉන්නව මිසක් මේ මහඟු අවස්ථාවෙන් ප්‍රයෝජන ගන්නෙ නෑ. අන්තිමට බලනකොට ඒ පරම දුර්ලභ අවස්ථාවයි, අති දුර්ලභ අවස්ථාවයි ගෙවිල ගිහින් සතර අපායෙ දුක් විඳිනවා. ඒ නිසා හැම කෙනෙක්ම මේ ලැබිච්ච අවස්ථාවෙන් උපරිම ප්‍රයෝජන අරගෙන අඩු ගානෙ සතර අපායෙන්වත් නිදහස් වෙන්න අධිෂ්ඨාන කරගෙන උත්සාහ කරන්න.

***පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් නැවත මතු කරන ලද දහම් කරුණු ඇසුරින් සකස් කළේ:***

**නීතිඥ චන්දන සිරිවර්ධන**



# අහගත්තෙ නැති, දන්නෙ නැති, දැක්කෙ නැති ඇත්ත...

**ශ්‍රාවක :** බුදු රජාණන් වහන්සේ පෙන්වා දුන්න මේ ලෝකයේ සත්‍යය යම් අයෙකුට දකගන්න පුළුවන් වෙන ක්‍රම රාශියක් තියෙන බව මට දැනගන්න ලැබුනා. හැබැයි මේ එකම සත්‍යය විවිධ ක්‍රමවලින් දකින්නෙ කොහොමද කියන එක තමයි මට දැන් තියෙන ප්‍රශ්නය.

**දේශක :** ඔව්. ක්‍රමවේද නම් රාශියක් තියෙනව තමයි. ඒකට හොඳ උපමාවකුත් තියෙනවා. මොන ක්‍රමවේදයෙන් වුනත් දකින්න තියෙන්නෙ ආර්ය සත්‍ය 4 තමයි. ඒක දකපු කවුරුත් අනුගමනය කරන්නෙ එකම ආර්ය මාර්ග අංග 8 ම තමයි. ඒ ක්‍රමවේදයම තමයි ආර්ය අෂ්ටාංගික මාර්ගය කියල අද කවුරුත් හඳුන්වන්නෙ. ඒකටම සෝතය කියලත් කියනවා. ඒ කියන්නෙ සැඩ පහරක්, ප්‍රවාහයක් කියන අර්ථය. ඒ නිසාම මේ ආර්ය අෂ්ටාංගික මාර්ගය ගඟකට උපමා කරල තියෙනවා. සම්මා දිට්ඨිය නමැති මාර්ග අංගයෙන් මේ ගඟට බැස්ස හැමෝම අවසානයේ නිවන නමැති මුහුදට ගහගෙන යන එක අනිවාර්යෙන්ම සිද්ධ වෙනවා.

**ශ්‍රාවක :** ඒ කියන්නෙ මේ ලෝකෝත්තර අරි අටඟි මග අනුගමනය කරන සියලුම අය අවසානයේදි නිවන් පූර්ණ කරගන්නවා කියන එකම නේද ?

**දේශක :** ඔව්. ඒ වගේම, සාමාන්‍යයෙන් ගඟට බහින්න පුළුවන් තොටුපොළවල් රාශියක් තියෙනව වගේම, අරි අටඟි මග කියන සැඩ පහරට බැස ගන්නත් ක්‍රමවේද රාශියක්ම තියෙනවා. කොයි තොටුපොළෙන් බැස්සත් වැටෙන්නෙ එකම ගඟට වගේ, මොන ක්‍රමවේදයෙන් ගියත් අනුගමනය කරන්නෙ අරි අටඟි මග තමයි.

**ශ්‍රාවක :** මේ ආකාරයට ක්‍රමවේද රාශියක් තියෙන්න යම් විශේෂ හේතුවක් එහෙම තියෙනවද ?

**දේශක :** ඒ ඒ පුද්ගලයන්ගෙ ඉන්ද්‍රිය නානත්වය අනුව, ඒ ඒ පුද්ගලයට ගැළපෙන ක්‍රමවේදයක් අනුව ඔය අරි අටඟි මග නමැති සෝතයට පැමිණෙන්න පුළුවන්. ඔය ආකාරයට පැමිණුනා කියන අර්ථයෙන්ම තමයි ආපන්න කියන වචනයත් තියෙන්නෙ. සෝතයට පැමිණුනා කියන අර්ථයෙන්ම තමයි සෝත ආපන්න හෙවත් සෝතාපන්න වෙනව කියල කියන්නෙ.

**ශ්‍රාවක :** හරි දැන් මට වැටහුනා. ඔය පෙන්වල දෙන්න හදන්නෙ, කාටහරි සෝතාපන්න වෙන්න පුළුවන් වෙන ආකාරයට මේ ලෝකයේ සත්‍යය දකින්න පුළුවන් ක්‍රමවේද රාශියක් තියෙනවා කියන එකම නේද ?

**දේශක :** ඔව්. තමන්ට ගැළපෙන ක්‍රමවේදය අහගන්න ලැබුනොත්, ඒ පුද්ගලයට අවබෝධය දක්වා යන්න ලේසි වෙනවා. ඒ නිසාම තමයි දිගින් දිගටම අපි මේ ධර්ම සාකච්ඡාවලට සම්බන්ධ වෙන්න කියල කියන්නෙ. මොකද අපි ඒ සාකච්ඡාවලදි ක්‍රමවේද රාශියක්ම කියල දෙනවා.

**ශ්‍රාවක :** මේ ලෝකයේ සත්‍යය දකින එකයි, අරි අටඟි මග අනුගමනය කරන එකයි දෙකම එකක් වෙන්නෙ කොහොමද කියල පැහැදිලි කරල දෙන්න.

**දේශක :** අරි අටඟි මග කියන්නෙ ආර්ය සත්‍ය හතරෙන් හතරවන සත්‍යයට. මේ ලෝකයේ කවුරුත් නොදන්න, නොදැක්ක ප්‍රශ්නයක් තියෙනවා. ලෝක සත්ත්වයාට ඔය ප්‍රශ්නය ඇතිවෙන්නෙ නිකම්ම නෙවෙයි. ඒකටත් විශේෂ හේතුවක් තියෙනවා. ඒ හේතුව නිරෝධ කරගත්තොත් ප්‍රශ්නයක් පැන නගින්නෙ නැති නිසා, ඒ ප්‍රශ්නය පහසුවෙන් විසඳගන්න පුළුවන් වෙනවා. ඒ විසඳුම ලබා ගන්න අනුගමනය කළ යුතු අංග 8 කින් යුතු ක්‍රමවේදයට තමයි අරි අටඟි මග කියල කියන්නෙ. ප්‍රශ්නය දැක්ක කෙනෙක් ඉන්නව නම්, ඒ අය කොහොමටත් ඒක විසඳගන්න උත්සාහ කරනවා. ඒ නිසා සත්‍යය දකින එකයි, අරි අටඟි මග අනුගමනය කරන එකයි දෙකෙන්ම අදහස් වෙන්නෙ එකක්ම තමයි.

**ශ්‍රාවක :** ඔය කියන ප්‍රශ්නය ගැන අවබෝධයක් නැති අය, ඒ කියන්නෙ බුදු රජාණන් වහන්සේ පෙන්වා දුන්න මේ ප්‍රශ්නය අහගෙන දැනගෙන දැක්කෙ නැති අය ඒක විසඳගන්න උත්සාහ කරන්නෙ නෑ. හැබැයි ප්‍රශ්නය අහගෙන දැනගෙන දැක්කොත් නම් කොහොම හරි ඔය ප්‍රශ්නය විසඳගන්නම තමයි උත්සාහ කරන්නෙ.

**දේශක :** ඒක 100% ක්ම නිවැරදියි. ඔය ප්‍රශ්නය ප්‍රශ්නයක් බව නොදන්න නොදැක්ක අයට මේක මහා දරුණු, අනිවාර්යෙන්ම විසඳ ගත යුතු ප්‍රශ්නයක් බව අවධාරණය කරන්න තමයි බුදු රජාණන් වහන්සේ විවිධ ක්‍රමවේද රාශියකින් ඔය ප්‍රශ්නය පෙන්වල දීල තියෙන්නෙ. ගවම්පති කියන භික්ෂූන් වහන්සේට දේශනා කරපු සූත්‍රයක් තියෙනවා. එතනදි ඉතා පැහැදිලිව පෙන්වල දෙනවා, ඔය ආර්ය සත්‍ය හතරෙන් එකක් දැක්කොත් අනිත් සත්‍ය තුන නිකම්ම දකිනවා කියල.

**ශ්‍රාවක** : එහෙම නම් දැනටමත් දුක්ඛ සත්‍යය දැකල තියෙනව කියල හිතාගෙන ඉන්න අයට ඒ බව තමන්ටම තහවුරු කරගන්න පුළුවන්. මොකද ඒ අය දැකල තියෙන්නෙ නිවැරදි දුක්ඛ සත්‍යය නම්, ඉතිරි සත්‍ය තුනත් ඒ අයට නිකම්ම පේන්න ඕන. එහෙම නම් ඒ අය මේ වෙනකොටත් අරි අටඟි මග අනුගමනය කරන අය විය යුතුයි.

**දේශක** : ඔව් ඔව්. එහෙමත් තහවුරු කරගැනීමක් කරගන්න පුළුවන් තමයි. මේ සාකච්ඡාව තුලදීත් ඒ වගේම තහවුරු කිරීමක් ලබා ගන්න පුළුවන්. ඔය සත්‍ය 4 දැකගෙන සම්මා දිට්ඨියට පත් වෙන්න පුළුවන් ක්‍රමවේද රාශියක්ම සඳහන් සූත්‍රයක් තියෙනවා, <u>සම්මා දිට්ඨි සූත්‍රය</u> කියල. (මජ්ජිම නිකාය 1, පිටුව - 111)

**ශ්‍රාවක** : සම්මා දිට්ඨියට පත්වෙන එකයි, ආර්ය සත්‍ය 4 දකින එකයි කියන්නෙ එකම කාරණයක්ද, නැත්නම් කාරණා දෙකක්ද ?

**දේශක** : මේ ලෝකයේ ඇත්ත 4 දකිනකොට තමයි ආර්ය සම්මා දිට්ඨියට පත් වෙන්නෙ. එතකල්ම ඉන්නෙ මිත්‍යා දෘෂ්ටියේ තමයි.

**ශ්‍රාවක** : එතකොට මේ ලෝකයේ ඉන්න, මේ ඇත්ත දැක්කෙ නැති සියලුම දෙනා මිත්‍යා දෘෂ්ටියේද ඉන්නෙ ?

**දේශක** : පුදුමයි නේද ? හැබැයි ඒක තමයි ඇත්ත. මෙතනදි අපි සියළුම දෙනා කියල කියනකොට පොඩ්ඩක් මතක තියා ගන්න ඕන, මිත්‍යා දෘෂ්ටිය කියන වචනයට බුදු රජාණන් වහන්සේ දුන්න තේරුමෙන් නෙවෙයි අද ඒක භාවිතා වෙන්නෙ. මේ ලෝකයේ රූප, ශබ්ද, ගන්ධ... ආදිය ඇසුරු කරල සැප ලබාගන්න පුළුවන්, ඒකෙන් කිසිම අයහපතක් කාටවත් වෙන්නෙ නෑ කියල හිතාගෙන ඉන්න අය තමයි හැබෑවටම මිත්‍යා දෘෂ්ටිකයො කියල කියන්නෙ. ආගම, රට, ජාතිය මොකක් වුනත් රූප, ශබ්ද, ගන්ධ... ආදිය ඇසුරු කිරීම වටින දෙයක්, සාර දෙයක්, හරවත් දෙයක් කියල හිතන අය කොහේ හිටියත් ඉන්නෙ මිත්‍යා දෘෂ්ටියේම තමයි. කවදාහරි සත්පුරුෂයෙක්ගෙන් බුදු රජාණන් වහන්සේ දේශනා කරන ලද ශ්‍රී සද්ධර්මය අහල දැනගෙන දැකගන්න කල් ඉන්නෙ මිත්‍යා දෘෂ්ටියේම තමයි. හැබැයි ලෞකික සම්මා දිට්ඨියකුත් තියෙනවා. ඒ තමයි දස වස්තුක මිත්‍යා දෘෂ්ටියෙන් වෙන්වීම. නමුත් ආර්ය විනයට අනුව නම් ලෞකික සම්මා දිට්ඨියත් මිත්‍යා දෘෂ්ටියක්.

**ශ්‍රාවක** : මම හිතුවට වඩා මේ ප්‍රශ්නය ගොඩක් සංකීර්ණ බව දැන් වැටහෙනවා. ඒ නිසා සම්මා දිට්ඨියට පත් වෙනව කියන එකේ සාමාන්‍ය අදහසක් මුලින්ම විග්‍රහ කරගත්තොත් වඩා හොඳයි කියල මට හිතෙනවා.

**දේශක** : සම්මා දිට්ඨිය කියල කියන්නෙ, මේ ලෝකයේ සිද්ධ වෙන කරුණු කාරණා සම්බන්ධයෙන් යම් කිසි අයෙක් දරාගෙන ඉන්න ආකල්පයක්, එහෙමත් නැත්නම් දැක්මක් කියල කියන්න පුළුවන්. මේ නමින් හඳුන්වන ඒ දැක්ම ඉතාමත් සුවිශේෂීය එකක්. ඒක එහෙම වෙන්න හේතුව තමයි, මේ ලෝකයේ ඉන්න අනෙකුත් සියළුම අය දැනට දරාගෙන ඉන්න සියලුම දැක්මවල්වලට මේ සුවිශේෂීය දැක්ම කොහෙත්ම සමාන කරන්න බැරි වීම. මේ වගේ දැක්මක් යම් අයෙකුට ලබා ගන්න පුළුවන් වෙන්නෙ, බුදු රජාණන් වහන්සේ විසින් දේශනා කරන ලද ශ්‍රී සද්ධර්මය සත්පුරුෂයෙක්ගෙන් අහගෙන දැනගෙන දැකල විතරමයි. වෙනත් කිසිම ක්‍රමයක් නෑ.

**ශ්‍රාවක** : මේ ලෝකෙ අනිත් සියළුම දැක්මවල්වලට සමාන කරන්න බෑ කියල විශේෂයෙන්ම කිව්වෙ ඇයි ?

**දේශක** : ලෝකයේ තියෙන අනිත් සියලුම දැක්මවල් මේ ලෝකයේ ඉන්න අවශ්‍ය ක්‍රමවේදයන් ගොඩ නගා ගන්න අරමුණු කරගත්ත ඒවමයි. නමුත් මේ සුවිශේෂීය දැක්ම ලෝකයෙන් එතෙර වෙන්න අරමුණු කරගත්ත එකක්, ලෝකෝත්තර එකක්. ඒ වගේම මේ දැක්ම ගැලවෙන එකක් මිසක් ඇලවෙන එකක් නෙවෙයි.

**ශ්‍රාවක** : මෙතනදි බුදු රජාණන් වහන්සේ විසින් දේශනා කරන ලද ශ්‍රී සද්ධර්මය කියල අවධාරණයෙන්ම කිව්වෙ ඇයි ? එහෙම නොවන ධර්මත් තියෙනවද ?

**දේශක** : අපොයි ඕන තරම් තියෙනවා. ඒව තමයි වැඩියෙන්ම තියෙන්නෙ. ඒ නිසාම තමයි මේ ශ්‍රී සද්ධර්මය පරම දුර්ලභයි කියල කියන්නෙ.

**ශ්‍රාවක** : අනිත් ධර්ම නම් වැඩියෙන් තියෙන්නෙ, ඒව ගැන අද කතා කරන්න ගියොත් අපි බලාපොරොත්තු වෙච්ච දේ ගැන කතා කරන්න වෙලාව නැතිවෙයි. නමුත් වෙනස පැහැදිලි කරගන්න අවශ්‍ය නිසා, වෙනත් ධර්ම කියල අදහස් කළේ මොකක්ද කියල කෙටියෙන් පැහැදිලි කරල දෙන්න.

**දේශක** : මේ ලෝකයේ හොඳින් යහතින් කාටවත් කරදරයක් කරන්නෙ නැතිව ඉන්න කියන හෝ වෙනත් මොනවහරි ක්‍රමයකින් ලෝකයේ පැවැත්ම සාරයි කියන ඒවා වෙනත් ධර්ම තමයි. මේ ලෝකයෙන් ඉතා ඉක්මනින් එතෙර වෙන්න ක්‍රම කියල දෙන ඒවා තමයි ශ්‍රී සද්ධර්මය වෙන්නෙ.

**ශ්‍රාවක** : එතකොට බුදු රජාණන් වහන්සේ මේ ලෝකයේ හොඳින් කටයුතු කරගෙන ඉන්න ක්‍රම දේශනා කරලම නැත්ද ?

**දේශක** : ඒ වගේ ක්‍රමවේද <u>සිඟාලෝවාද සූත්‍රය</u> වගේ කිහිප අවස්ථාවකදිම දේශනා කරල තියෙනවා. නමුත් ඒවත් අවසානයේ එල්ල වෙන්නෙ නිවනටම තමයි. ඒවා නිවන් පූර්ණ කරගන්න කල් තියෙන මධ්‍යම දහම්. අනිත් එක මේ නිවන් දකින ක්‍රමවේදය අනුගමනය කරන කවුරුත්, ඒ කියන්නෙ අරි අටඟි මග අනුගමනය කරන කවුරුත්, කොහොමටත් ඉන්නෙ හොඳින් තමයි. ඒ කියන්නෙ සාමයෙන් සමාදානයෙන් සහජීවනයෙන් තමයි ඒ අය ජීවත් වෙන්නෙ.

**ශ්‍රාවක** : ඒ කතාව නම් මට පැහැදිලි වුනේ නෑ. කොහොමටත් හොඳින් තමයි ඉන්නෙ කියල කියන්නෙ ඇයි ?

**දේශක** : කවුරු හරි සම්මා දිට්ඨියට පත් වෙලා ඉන්නව නම්, ඒ පුද්ගලයා ඉන්නෙ නිවන් පූර්ණ කරගන්නා ක්‍රමවේදය තුලම තමයි. කලින් කිව්ව වගේ අරි අටඟි මග කියන සැඩ පහරට බැහැල, නිවන නමැති මුහුදට ගහගෙන යමින් තමයි ඉන්නෙ. අතරමග මොන හැල හැප්පිලි තිබුනත්, අවසානයේදි යන්නෙ නිවනටම තමයි. ඒ වගේ අයගෙන් අනිත් අයට කරදරයක් වුනත් ඉතා අවම වශයෙන් තමයි වෙන්නෙ. ඒ අය නිසා මේ සමාජය බියපත් වෙන්නෙ නෑ. ඒ අය නිසා වෛරයක් හට ගන්නෙත් නෑ. උදාහරණයක් හැටියට ඒ කාලෙ හිටපු අනේපිඬු සිටුතුමා වගේ අයත්, විශාකා උපාසිකා මාතාව වගේ අයත් බොහොම හොඳින් තමයි කාලය ගත කළේ. ඒ වගේ අයගෙන් මේ සමාජයට වැඩක් මිසක් අවැඩක් සිද්ධ වෙන්නෙ නෑ.

**ශ්‍රාවක** : සමාජය සාමාන්‍යයෙන් උත්සාහ කරන්නෙ නීති රීති පනවල හරි දඬුවම් දීල හරි බලෙන් සිල් රක්කවල තියන්න. නමුත් ඒක ඒ තරම් සාර්ථක ක්‍රමවේදයක් නෙවෙයි කියල අපි අත්දැකීමෙනුත් දන්නවනෙ. හැබැයි සම්මා දිට්ඨියට පත් වෙච්ච අයට බලෙන් සිල් රක්කවන්න අවශ්‍ය වෙන්නෙ නෑ. ඒ අයට දස අකුසල් කරන්න කැමැත්තක් ඇති වෙන්නෙ නෑ. යම් ආකාරයකට සිද්ධ වුනත් ඒ කැමැත්තෙන් නෙවෙයි.

**දේශක** : ඔය ආකාරයට කොහොමටත් මේ සමාජයට අවැඩක් නොකරන පිරිසක් බිහි කරගන්න තමයි සත්පුරුෂ සංසේවනයකින් ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කරගන්න පුළුවන් ක්‍රමවේදයක් අවශ්‍ය වෙලා තියෙන්නෙ.

**ශ්‍රාවක** : ඒ ආකාරයට සම්මා දිට්ඨියට පත් වෙන්න පුළුවන් එක ක්‍රමවේදයක් ගැන නේද අද අපි කතා කරන්න ලෑස්ති වෙලා ඉන්නෙ?

**දේශක** : ඔව්. ඒ ගැන සූත්‍ර දේශනාවෙ සඳහන් වෙන්නෙ මොන ආකාරයටද කියල මුලින්ම බලමු.



"ඇවැත්නි යම් කලක පටන් ආර්ය ශ්‍රාවක තෙමේ අකුසලයක් දනීද, අකුසල මූලයක් දනීද, කුසලයක් දනීද, කුසල මූලයක් දනීද ඇවැත්නි, මෙපමණකින් ආර්ය ශ්‍රවක තෙමේ සම්මා දිට්ඨික වෙයි. ඔහුගේ දෘෂ්ටිය ඍජු වේ. ධර්මයේ ගුණ ගැන පැහැදීමෙන් යුක්ත වූයේ වේ. මේ නිර්වාණ ධර්මයට පැමිණියේ වේ." (සම්මා දිට්ඨි සූත්‍රය, මජ්ජිම නිකාය - 1, 111 පිටුව)

**ශ්‍රාවක** : මෙතනදි විස්තර කරල තියෙන්නෙ ආර්ය ශ්‍රවකයෙක් ගැන නේද ? සම්මා දිට්ඨියට පත් නොවී ආර්ය ශ්‍රවකයෙක් වෙන්නෙ නෑ නේද ?

**දේශක** : ඒ ගැන ගැඹුරින් හිතල තේරුම් ගන්න ඕන දෙයක් තියෙනවා. මේ විස්තර කරල තියෙන ක්‍රමවේදයට අනුව කුසල් සහ අකුසල් පිළිබඳව දැනගෙන ඉන්නව නම්, ඒ වෙනකොට ඒ පුද්ගලයා ආර්ය ශ්‍රාවකයෙක් බවට පත් වෙලා ඉවරයි. ලෝකෙ ඉන්න සියලුම දෙනා විශේෂ කොටස් 2 කට බෙදන්න පුළුවන්. එක කොටසක් ස්‍රැතවත් ආර්ය ශ්‍රාවක. අනෙක් කොටස අස්‍රැතවත් පෘතජ්ජන. ස්‍රැතවත් ආර්ය ශ්‍රවකයෙක් වෙන්න නම් සත්පුරුෂ සංසේවනයකින් ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කරල දැනගෙන දැකගන්න අවශ්‍යමයි. ඒ ආකාරයෙන් ශ්‍රී සද්ධර්මය අහගත්තෙ නැති, දැනගත්තෙ නැති, දැක ගත්තෙ නැති අයට තමයි අස්‍රැතවත් පෘතජ්ජනයින් කියන්නෙ.

**ශ්‍රාවක** : මෙතනදි දැනගන්න, දැකගන්න කියල කියන්නෙ, සත්පුරුෂයෙක්ගෙන් අහගත්ත ශ්‍රී සද්ධර්මය තමන්ම ප්‍රඥාවෙන් දකින එක අත්‍යවශ්‍ය කාරණයක් නිසා නේද ? මේ විදිහට බැලුවම ලංකාවෙ ඉන්න අති බහුතරයක් බෞද්ධයන් අස්‍රැතවත් පෘතජ්ජන ගොඩට නේද අයිති වෙන්නෙ ?

**දේශක** : ඉතාමත්ම අවාසනාවන්ත තත්ත්වයක් වුනත් ඒක තමයි ඇත්ත. මේ සම්මා දිට්ඨි සූත්‍රයේ සඳහන් ආකාරයට අකුසලයයි, අකුසල මූලයයි, කුසලයයි, කුසල මූලයයි සත්පුරුෂයෙක්ගෙන් අහගෙන දැකගෙන තියෙන කෙනෙක් ආර්ය ශ්‍රාවකයෙක්ම තමයි. ඒ නිසා තමයි සූත්‍රය පටන් ගන්නකොටම ආර්ය ශ්‍රාවකයෙක් කියල පටන් අරගෙන තියෙන්නෙ.

**ශ්‍රාවක** : හරි මට දැන් තේරුනා. එතනට අස්‍රැතවත් පෘතජ්ජනයෙක් කියල දැම්ම නම්, ඒ වගේ කෙනෙකුට කොහොමටත් ඔය කියන ආකාරයට කුසලය සහ අකුසලය ගැන දැන ගැනීමක් තියෙන්න විදිහක් නෑනෙ.

**දේශක** : හැබැයි මෙතනදි අවධාරණයෙන් විමසා බැලිය යුතු තවත් වැදගත් කරුණක් තියෙනවා. ඒ තමයි ත්‍රිපිටකයේ සිංහල පරිවර්තනයේ තියෙන්නෙ අකුසලයයි, අකුසල මූලයයි, කුසලයයි, කුසල මූලයයි දැනගත්ත පමණින් සම්මා දිට්ඨියට පත් වෙනව කියල.

**ශ්‍රාවක** : ඒක තමයි මමත් මේ අහන්න හිතාගෙන හිටියෙ. ඔය ටික ගැන දහම් පාසල් ගිය හැමෝම වගේ දන්නවනේ. අකුසලය කියල කිව්වෙ ප්‍රාණ ඝාත, අදත්තාදාන... ආදී දස අකුසල්වලටනේ. අකුසල මූලය කියල කිව්වෙ ලෝභ, ද්වේශ, මෝහනේ. කුසලය කියල කියන්නෙ දස අකුසලයෙන්ම වළකින එකනේ. කුසල මූලය කියල කියන්නෙ අලෝභ, අද්වේශ, අමෝහනේ. ඉතින් මේ විදිහට නම් අපි හැමෝම සම්මා දිට්ඨියට පත් වෙලා ඉන්න ඕන නේද ?

**දේශක** : ඔව්. ඔබ කියන කතාව නම් හරි. නමුත් ත්‍රිපිටකයේ සිංහල පරිවර්තනයෙදි ඔය විදිහට "දනී" කියල ලියල තියෙන්නෙ පාළියෙන් පජානාති කියන වචනය. පජානාති කියන වචනයෙන් අදහස් කරන්නෙ දැනගැනීමක් තමයි. නමුත් මේක ප්‍රඥාවෙන් දැනගත යුතු දැන ගැනීමක් මිසක් ඔබ දැන් ඔය දන්න ආකාරයේ දැන ගැනීමක් නෙවෙයි.

**ශ්‍රාවක** : ඒ කියන්නෙ ඒක ප්‍රඥාවෙන් දැනගෙන දැක්කෙ නැත්නම්, මම දැන් දන්න දැනීමෙන් වැඩක් වෙන්නෙ නෑ කියන එක නේද ?

**දේශක** : ඔව්. හැබැයි මෙතනදි ඔබට තවත් ඉතාම වැදගත් කාරණයක් කියල දෙන්න වෙනවා. ඔබ මේ ධර්මය ගැන කල්‍යාණ මිත්‍ර සේවනයක් ලබන්න පෙර දැනගත්ත දේවල් වැඩක් වෙන්නෙ නෑ කියල නම් හිතන්න එපා. මොකද එහෙම නොවුන නම් ඔබට ලෞකික සම්මා දිට්ඨියවත් තියෙන්න විදිහක් නෑ. ඒ වගේ තත්ත්වයක් යටතෙ නම් ඔබ මේ වගේ ධර්ම සාකච්ඡාවකට කිසිසේත්ම සම්බන්ධ නොවී

ඉන්නත් ඉඩ තියෙනවා. ඒ නිසා මේ ධර්මය සම්බන්ධයෙන් ඔබට දැනට තියෙන දැනීම කිසිසේත්ම අවතක්සේරු කරන්න එපා. ඒ වගේම මේ ආකාරයට නිවන් දකින්න ඔබ යම් ධර්මයක් ප්‍රඥාවෙන් දැනගෙන දැකිය යුතුද, ඒ සියල්ලම කල්‍යාණ මිත්‍ර ඇසුරකින් අහගෙන දැනගෙන දැකීම අනිවාර්යෙන්ම කළ යුතු බවත් හොඳින් මතක තියාගන්න.

**ශ්‍රාවක :** ඔව්. ඒ බව මට දැන්නම් හොඳින් වැටහුනා. මම කැමතියි තවදුරටත් මේ පජානාති හෙවත් ප්‍රඥාවෙන් දැනගන්නවා කියන එක ගැන විස්තර සහිතව දැනගන්න.

**දේශක :** පාළි භාෂාවෙ සඳහන් වෙන වචන 3 ක් තියෙනවා ජානාති, විජානාති, පජානාති කියල. මේ වචන 3 ගොඩක් සූත්‍රවල අන්තර්ගත වෙනවා. ඒවා භාවිතා කරල තියෙන්නෙ දැන ගැනීම් කියන අර්ථයෙන්ම තමයි. හැබැයි මේ වචන තුනෙන් දැන ගැනීම විශේෂ ක්‍රමවේද 3 කින් සිද්ධ වෙන නිසාම තමයි, ඒ ඒ අදාළ තැන්වලට ඒ ඒ වචනය භාවිතා කරල තියෙන්නෙ. නමුත් සිංහල පරිවර්තනයෙදි හැම තැනකටම දැනගන්නවා කියන අර්ථයමයි භාවිතා වෙලා තියෙන්නෙ. ඒ වුනාට ත්‍රිපිටකයේ සූත්‍ර ඇසුරෙන්ම පෙන්වා දෙන කරුණු කාරණා ප්‍රඥාවෙන් විමර්ශනය කරල අපිට මේ වචන තුනේ නිවැරදි අර්ථ වටහා ගන්න පුළුවන්.

**ජානාති** - සාමාන්‍යයෙන් දැනගන්නවා කියන අර්ථය. උදාහරණයක් විදිහට අනුරාධපුරයට යන්න දන්නවා, කෑම උයන්න දන්නවා, ඇඳුම් මහන්න දන්නවා. මේ ආකාරයට ලෝකයේ සාමාන්‍ය දේවල් දැන ගැනීම තමයි ජානාති කියල හඳුන්වල තියෙන්නෙ.

**විජානාති** - විඤ්ඤාණ මායාවට හසුවීම නිසා රැවටිලා මායාවක් ඇත්තක් ලෙස දැන ගැනීම. මේ ලෝකෙ රූප, ශබ්ද, ගන්ධ, රස... ආදිය ඇසුරු කරල සැප විඳීමක්, දුක විඳීමක්, සැපත් නැති දුකත් නැති විඳීමක් (උපේක්ඛා) විදිහට දැන ගැනීම අයත් වෙන්නෙ මේ විජානාති ක්‍රමයට. මේ ගැන ත්‍රිපිටකයේ <u>මහා වේදල්ල සූත්‍රයේ</u> (මජ්ජිම නිකාය - 1, 685 පිටුව) සඳහන් වෙන්නෙ මේ ආකාරයට.

"සුඛංතිපි විජානාති දුක්ඛංතිපි විජානාති අදුක්ඛම සුඛංතිපි විජානාති"

රූප ඇසුරු කරල අපි හැමෝම අත් විඳින සැප, දුක්, උපේක්ෂා විදිහට හඳුන්වන සියලුම විඳ ගැනීම්, වේදනා චෛතසිකයෙන් විජානාති ආකාරයට හෙවත් විඤ්ඤාණ මායාවට හසු වෙලා රැවටීමකින් දැන ගත්ත දෙයක් බව මෙයින් පැහැදිලි කරල තියෙනවා.

**පජානාති** - මේ දැන ගැනීම ඉන්ද්‍රිය හරහා එන අරමුණකින් දැන ගන්න දැන ගැනීමක් නෙවෙයි. යම් අවස්ථාවක සිද්ධ වෙන සමස්ත ක්‍රියාදාමයම සැළකිල්ලට අරගෙන ඒ ඒ අවස්ථාවට අනුකූලව බුදුන් වහන්සේ විසින් පෙන්වා දීල තියෙන කරුණු කාරණා විමර්ශනය කරල තමන්ගෙ නුවණ මෙහෙයවල ප්‍රඥා චෛතසිකය තුලින් මායාවට හසු නොවී සත්‍යය මොකක්ද කියල නිවැරදිව දැන ගැනීම. ඒ කියන්නෙ චතුරාර්ය සත්‍යය දැකීමම තමයි.

ආර්ය සත්‍ය 4 දැනගෙන දකින්නෙ මේ ක්‍රමවේදයට. උදාහරණයක් විදිහට යම් රූපයක් දැක්කම ඔබට සුව ගෙන දෙනව නම්, එහෙම නැත්නම් ඒ රූපය ඇසුරු කරල සුව වින්ද නම්, ඒ සුව වින්ද බව දැනගෙන තියෙන්නෙ විජානාති ක්‍රමවේදයට. නමුත් ඒක චතුරාර්ය සත්‍යයට ගළපල දැනගන්නෙ පජානාති ක්‍රමවේදයට අනුව. කැමති අරමුණකින් විපාක විදිහට දැනුන සුව දැනීමට රාගයෙන් බැඳිල නැවත නැවතත් රූප පසුපස හඹා යෑමෙන් තමන් මහා විනාසයකට ඇද වැටෙන බවත් වැටහෙනව නම්, ඒ දැන ගැනීම පජානාති විදිහට ලැබුන දැන ගැනීමක්. ඒක ප්‍රඥාවෙන් දැන ගැනීමක්.

**ශ්‍රාවක :** යම් තාක් දුරට පැහැදිලි වුනා. හැබැයි හිතුවට වඩා අමාරුයි. ප්‍රඥාවෙන් දැනගන්නවා කියන එක නම් ඉතාමත් ගැඹුරින් කල්පනා කරල බලල වටහා ගත යුතු දෙයක් බව තේරුම් ගත්තා.

**දේශක :** ඒක තමයි, තම තම නැණ පමණින් දැනගත යුතුයි කියල දේශනා කරල තියෙන්නෙ. ඒ විතරක් නෙවෙයි, මේ දැන ගැනීම ගැන ලියල කියල දෙන්න අමාරුයි. මේ අවබෝධය ලබා ගන්න නම් මේ පිළිබඳව කෙරෙන ධර්ම සාකච්ඡාවකට සම්බන්ධ වෙන්නම වෙනවා. නමුත් තමන් දැනට දැනගෙන ඉන්න ක්‍රමවේදය තුල අඩුපාඩුකම් තියෙන බව වටහා ගන්න පුළුවන් වේවි. මේ වගේ ලිපියකින් සාමාන්‍ය අවබෝධයක් ලබා ගත්තට පස්සෙ ඒ අයට ඉදිරියෙදි කල්‍යාණ මිත්‍ර සේවනයකින් හරි දැක්මක් ලබා ගන්න එකත් පහසු වේවි.

**ශ්‍රාවක :** මමත් ත්‍රිපිටකයේ සූත්‍ර කියවන්න උත්සාහ දරමින් තමයි දැන් ඉන්නෙ. මම කියවපු ගොඩක් තැන්වල ඔය වචන තුනටම සිංහල පරිවර්තනය තිබුනෙ, දැන ගනී කියල තමයි. යම් අයෙක් මේ වෙනස අවබෝධ කරගන්නෙ නැතිව ත්‍රිපිටකය කියෙව්වොත්, ඒ සූත්‍රවලදි බුදු රජාණන් වහන්සේ පෙන්වල දුන්න නියම දහම් අර්ථය වටහා ගන්න බැරි වෙනව නේද ?

**දේශක :** ඔබට විතරක් නෙවෙයි, අද මේ ත්‍රිපිටකය පරිහරණය කරන හැමෝටම ඔය ප්‍රශ්නයට මුහුණ දෙන්න වෙනවා. නමුත් මේ වචනවල නියම අර්ථය ත්‍රිපිටකය තුලින්ම හොයා ගන්නත් පුළුවන්. හැබැයි ඒකටත් කල්‍යාණ මිත්‍ර සේවනයකින් ධර්මය අහගන්න වෙනවා. මොකද ඔය විජානාති පජානාති කියන දෙකම සිංහල පරිවර්තනයෙදි "දැන ගනී" කියල යොදා ගත්ත ගමන් මුළු ධර්මයම කණපිට පෙරලෙනවා. එහෙම නැත්නම් ඔය හැමෝම කියන ආකාරයට මේ ධර්මය විකෘති වෙනවා. මේ ගැන ලිපිවලින් කියල නම් වැඩක් වෙන්නෙ නෑ. යම් කෙනෙකුට මේ වචනවල නියම අර්ථ තේරුම් ගන්න අවශ්‍ය නම්, ධර්ම සාකච්ඡාවලට සම්බන්ධ වෙලා ඒ අවබෝධය ලබා ගන්නව හැර වෙන විකල්පයක් නෑ.

**ශ්‍රාවක :** අපි මීට කලිනුත් ඒ ගැන අවශ්‍ය දැනුවත් කිරීම් ඕන තරම් කරල තියෙනවා. අද අපි කුසලංච පජානාති අකුසලංච පජානාති ගැන වැඩිදුර කතා කරමු.

**දේශක :** ඔව්. මේ සම්මා දිට්ඨි සූත්‍රයේ ඔය දහම් කරුණු ගැන පාළියෙන් සඳහන් වෙන්නෙ මේ ආකාරයට.

"...අරිය සාවකෝ අකුසලංච පජානාති අකුසල මූලංච පජානාති කුසලංච පජානාති කුසල මූලංච පජානාති එත්තාවතාපි ඛෝ ආවුසෝ අරිය සාවකෝ සම්මා දිට්ඨී හෝති." (මජ්ජිම නිකාය - 1, පිටුව - 111)

මේ කරුණු පැහැදිලි කර ගන්න, ඒ කියන්නෙ අකුසලය සහ කුසලය පිළිබඳ පජානාති වෙන්න තවත් ත්‍රිපිටක ග්‍රන්ථයක් වන පෙටකෝපදේශයේ 319

පිටුවේ සඳහන් ලෝභ, ද්වේශ, මෝහ කියන කරුණු තුනෙන් අකුසලයක් ගොඩනැගෙන ආකාරය පිළිබඳ විග්‍රහයත් සැළකිල්ලට අරගෙන විමර්ශනය කරන්න වෙනවා.

"එහි ලෝභ අකුසල මූලය කොයින් උපන්නේද යත් : ආලම්බනය ත්‍රිවිධ යැ : මනාපික යැ අමනාපික යැ උපේක්ෂාස්ථානීය දැයි. එහි මනාපික ආලම්බනයෙන් ලෝභ අකුසල මූලය උපදී, මෙසේ මනාපික වූ ආලම්බනයෙන් සුඛ වේදනීය ස්පර්ශය වෙයි, සුඛ වේදනීය පහස නිසා සුඛ වේදනාව උපදී, සුඛ වේදනාව නිසා සෝමනස්සූප විචාරය උපදී. සෝමනස්සූප විචාරය නිසා රාගය උපදී. රාගය නිසා කාම විතර්කය උපදී."

මෙතනදි ඉදිරිපත් කළේ ලෝභයෙන් අකුසල් සිද්ධ වෙන ආකාරය. ඒ ආකාරයෙන්ම ද්වේශයෙන් සහ මෝහයෙන් අකුසල් සිද්ධ වෙන ආකාරයත් ඉදිරිපත් කරල තියෙනවා. ඒ තුනම ගැන පහසුවෙන් දැනගන්න පුළුවන් ආකාරයට සකස් කරපු රූප සටහනක් මේ ආකාරයට ඉදිරිපත් කරන්න පුළුවන්.

| ලෝභ අකුසල මූලය | ද්වේශ අකුසල මූලය | මෝහ අකුසල මූලය |
|---|---|---|
| කැමති අරමුණ | අකමැති අරමුණ | උපේක්ෂා අරමුණ |
| ↓ | ↓ | ↓ |
| සුව සහගත ස්පර්ශය | දුක් සහගත ස්පර්ශය | නොදුක් නොසුව ස්පර්ශය |
| ↓ | ↓ | ↓ |
| සුව විඳීම | දුක් විඳීම | නොදුක් සුව විඳීම |
| ↓ | ↓ | ↓ |
| සොම්නස් උපවිචාරය | දොම්නස් උපවිචාරය | උපේක්ෂා උපවිචාරය |
| ↓ | ↓ | ↓ |
| රාගය | ද්වේශය | මෝහය |
| ↓ | ↓ | ↓ |
| **කාම විතර්කය** | **ව්‍යාපාද විතර්කය** | **විහිංසා විතර්කය** |

මෙතනදි පෙන්වා දීල තියෙන කරුණු කාරණා අනුව අපිට තේරුම් ගන්න පුළුවන්, අපිට ලෝකයෙන් ලැබෙන අරමුණු අනුව අවසානයේ කාම විතර්ක, ව්‍යාපාද විතර්ක, විහිංසා විතර්ක ගොඩ නගා ගනිමින් තමන්ම අකුසලයක් සිද්ධ කරගන්නා ආකාරය.

**ශ්‍රාවක** : මේ ආකාරයට කැමති අරමුණුවලින් ලෝභ වෙන බවත්, අකමැති අරමුණුවලින් ද්වේශ වෙන බවත් දැනගෙන හිටියත්, උපේක්ෂා අරමුණුවලින් මෝහ වෙලා අකුසලයක් කරගන්න බව දැනගත්තෙ අද තමයි.

**දේශක** : මේ ආකාරයට පෙටකෝපදේශ කියන ත්‍රිපිටක ග්‍රන්ථයේ පෙන්වල දීල තියෙන්නෙ, මේ ලෝකයේ ජීවත් වෙනකොට ලැබෙන අරමුණුවලින් යම් අයෙක් අකුසලයක් කරගන්නා ආකාරය. තම තමන්ගෙ කර්ම විපාක අනුව ඒ ඒ අයට සුව සහගතව හෝ දුක් සහගතව හෝ උපේක්ෂා සහගතව හෝ ලෝකයෙන් අරමුණු ලැබීම ස්වභාවිකවම සිද්ධ වෙන දෙයක්. ඒක පාලනය කරන්න අපට හැකියාවක් නෑ.

**ශ්‍රාවක** : ඒ කියන්නෙ කර්ම විපාක එල දෙන්න ඉඩ දීල අපට ඔහේ නිකං බලන් ඉන්න වෙනව හැර වෙනත් විකල්පයක් නෑ කියන එකද ?

**දේශක** : එහෙම අදහසක් ගත්තොත් නම් සම්පූර්ණයෙන්ම වැරදියි. ඒ කාලෙ හිටපු නිගණ්ඨනාථපුත්ත කියන සාස්තෘවරයත් කිව්වෙ, පවක් කෙරුවොත් අනිවාර්යෙන්ම ඒක එල දීල අපාය‌ෙ යනව කියල. ඒ නිගමනය වැරදි බව බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙනවා. ලෝකයෙන් එන අරමුණු හමුවේ අපි ක්‍රියාත්මක වන ආකාරයේ තියෙන වැරැද්ද තමයි අපිට බුදු රජාණන් වහන්සේ පෙන්වා දීල තියෙන්නෙ.

**ශ්‍රාවක** : අන්න ඒ ක්‍රමවේදය තමයි මටත් තේරුම් ගන්න අමාරු වෙලා තියෙන්නෙ. තවත් සරලව ඒ ගැන විග්‍රහ කරල දෙන්න පුළුවන්ද ?

**දේශක** : අපිට බාහිරින් එන අරමුණකදි ලැබෙන අවසන් ප්‍රතිඵලය තමයි සුව විඳ ගැනීම, දුක් විඳ ගැනීම, එහෙමත් නැත්නම් සුවත් නැති දුකත් නැති (උපේක්ෂා) විඳ ගැනීම. මේ ක්‍රියාවලිය සිද්ධ වෙන ආකාරය තමයි පියවරෙන් පියවර සරලව අපිට තේරෙන ආකාරයට බුදු රජාණන් වහන්සේ විග්‍රහ කරල දීල තියෙන්නෙ. ඔබට සුව දැනීම සිද්ධ වෙන්නෙ මෙන්න මේ ක්‍රමයට. මුලින්ම කර්ම විපාකය අනුව ඔබ කැමති අරමුණක් ලෝකයේ රූප, ශබ්ද, ගන්ධ, රස... ආදියකින් ලැබෙනවා. ඊට පස්සෙ ඒ ඇසුරෙන් සුව සහගත ස්පර්ශයක් පටිච්ච සමුප්පන්නව ගොඩ නැගෙනවා. ඉන්පසු සුව සහගත වේදනාවක් විඳිමින් ඒකට රාගයෙන් බැඳිල මතු මතුත් ඒ සුව විඳීම බලාපොරොත්තු වෙනවා. ඔබ අකමැති අරමුණක් ආවොත් ඒකෙන් දුක් වේදනාවක් හට ගන්නවා. ඒකට ද්වේශයෙන් බැඳිල දුක් සහගත වේදනාවක් පටිච්ච සමුප්පන්නව ගොඩ නැගෙනවා.

**ශ්‍රාවක** : ඒ කියන්නෙ අපිට විපාක වශයෙන් සුව, දුක්, උපේක්ඛා වේදනා එනව නේද?

**දේශක** : ඔව්. අපිට විපාකයෙන් එන සුව වේදනාවට රාගයෙනුත්, දුක් වේදනාවට ද්වේශයෙනුත්, උපේක්ෂා වේදනාවට අවිද්‍යාවෙනුත් බැඳිල සසර ගමනක් හදන එක තමයි අපි හැමෝම කරන්නෙ. ඒ අපි කලින් කිව්ව වගේ විජානාති ක්‍රමයට මේ ලෝකය ඇසුරු කරන නිසාම තමයි.

**ශ්‍රාවක** : ඒ කියන්නෙ මම විඤ්ඤාණ මායාවට අහු වෙලා කරගත්ත විනාසය ගැන තමයි පෙටකෝපදේශයේ විස්තර කරල තියෙන්නෙ ?

**දේශක** : ඔව්. දැන් ඔබට තේරුම් ගන්න පුළුවන් වෙයි පෙටකෝපදේශයේ තියෙන විග්‍රහය. පළමුවෙන්ම කැමති අරමුණකින් සුව සහගත ස්පර්ශයක් ගොඩ නැගෙනවා. ඒ ස්පර්ශයට පටිච්ච වෙලා, සුවයක් සොම්නසක් උදා වෙනවා. ඒ උදා වුන සුවය සොම්නස යළි යළිත් ලබා ගන්න ඕනකමක් ඔබටම ඇතිවෙනවා. ඒකට තමයි රාගය කියල කියන්නෙ. ඒ රාගය, එහෙමත් නැත්නම් ඒ සුවය, යළි යළි විඳ ගැනීමට තියෙන අවශ්‍යතාවය නිසා කාම විතර්ක ගොඩ නගමින් ඒ සඳහා අවශ්‍ය වැඩ පිළිවෙලවල් ක්‍රියාත්මක කරන්න පෙළඹෙනවා. මේක මුළාවක් බව දන්නෙ නැති අය දස අකුසලයම වුනත් ඒ වෙනුවෙන් කරන්න හොඳටම ඉඩකඩ තියෙනවා.

**ශ්‍රාවක** : හරි මට දැන් තේරුනා. මම කැමති අරමුණ පසුපස හඹා යාමට පෙළඹවීමක් ඒකෙන් ☞

සිද්ධ වෙනවා. අවසානයේ කාම විතර්ක ගොඩ නගනවා. ඒ නිසා මම කාමය පසුපස හඹා යාමේ ක්‍රියාවලිය දිගින් දිගටම නොකඩවාම සිද්ධ කරගෙන යනවා.



**දේශක** : හරියට හරි. මේ ආකාරයට ලෝකය ඇසුරු කරනකොට තමන්ට සිද්ධ වෙන අනතුර ගැන වටහා ගත්ත ආර්ය ශ්‍රාවකයා, කැමති අරමුණු හරහා එන කාම විතක්කවලට එන්න ඉඩ නොදී අසාරත්වය, එහෙම නැත්නම් අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් මෙනෙහි කරල නෙක්ඛම්ම විතක්ක ගොඩ නගා ගන්න උත්සාහයක් වීර්යක් කරනවා.

**ශ්‍රාවක** : මේ පෙන්වල දුන්න ආකාරයටම නේද, ද්වේශය සහ මෝහය කියන අකුසල මූලයන් අනුව ව්‍යාපාද විතර්ක සහ විහිංසා විතර්කත් ගොඩ නගා ගන්නෙ?

**දේශක** : පෙටකෝපදේශයේ අකුසල මූල 3 ගැනම විස්තර කරල තියෙන්නෙ ඔය ආකාරයටම තමයි. මෙතනදී අපි තේරුම් ගත යුතු තවත් වැදගත් කරුණක් තියෙනවා. මේ ලෝකයේ ජීවත් වෙනකොට අපි හැමදෙනාටම කර්ම විපාක අනුව ලැබෙන සුව සහගත හෝ දුක් සහගත හෝ නොදුක් නොසුව සහගත හෝ අරමුණු තුනම නිසා අවසානයෙදි හැමෝම ගොඩනගා ගන්නෙ කාම, ව්‍යාපාද, විහිංසා විතක්ක. ඒ එකකින්වත් අපි කාටවත් හොඳක් නම් සිද්ධ වෙන්නෙ නෑ. හැබැයි අපිට එහෙම වෙන්නෙ ලෝකයෙන් එන අරමුණු විඳ ගන්න යන නිසා, එහෙම නැත්නම් විජානාති ක්‍රමයට ඒවා දැනගන්න උත්සාහ කරන නිසා.

**ශ්‍රාවක** : මම අහල තිබුනා, බුදු රජාණන් වහන්සේ "විඳින්නාට දුක පනවමි" කියල දේශනා කරල තියෙනව කියල. අද තමයි මට ඒ දේශනාවෙ නියම අර්ථය වැටහුනේ.

**දේශක** : ඔබට වැටහුනා නම්, විඳින්න ගිහිල්ලයි මට මේ වින්නැහිය වෙන්නෙ කියල, එහෙම නම් ඔබ පජානාති විදිහට තමයි ඒ නිගමනයට ආවෙ. ඒ ආකාරයට මේ ලෝකය ඇසුරු කරන්න ගියාම තමන්ට ඇත්තටම මොකක්ද වෙන්නෙ කියල හොයල බලල විමර්ශනය කරල වටහා ගන්න එකට තමයි ප්‍රඥාවෙන් ලෝකය ගැන දැනගන්නවා කියන්නෙ.

**ශ්‍රාවක** : දැන් අපි මේ ආකාරයට තේරුම් ගත්තෙ අකුසල මූලය ගැන. ඒ කියන්නෙ ලෝභ, ද්වේශ, මෝහ කියන අකුසල මූලයන් ගොඩ නැගෙන ආකාරයට රූප, ශබ්ද, ගන්ධ, රස... ආදිය ඇසුරු කරන ක්‍රමවේදය ගැන. මේ ගැන මනා වැටහීමක් ඇති වුනා නම්, දස අකුසලයම සිද්ධ වෙන ආකාරය පිළිබඳ මනා වැටහීමක් ලැබුන වෙනව නේද ?

**දේශක** : ඔව්. ප්‍රාණඝාත, අදත්තාදාන, කාම මිත්‍යාචාර... ආදී දස අකුසලයම සිද්ධ වෙන්නෙ මේ ලෝභ, ද්වේශ, මෝහ කියන අකුසල් මුල් 3 හේතුවෙන්ම තමයි. ටිකක් ගැඹුරින් හිතල බැලුවම ඔබටම වටහා ගන්නත් පුළුවන්. බුදු රජාණන් වහන්සේ ඒ බව කම්ම නිදාන සූත්‍රයෙන් (අංගුත්තර නිකාය - 6, 479 පිටුව) දේශනා කරලත් තියෙනවා.

**ශ්‍රාවක** : එහෙනම් දැන් අකුසලයයි, අකුසල මූලයයි පිළිබඳ පජානාති වෙන්න මට පුළුවන්. කුසලයයි, කුසල මූලයයි පිළිබඳව පජානාති වෙන්නෙ කොහොමද ?

**දේශක** : දැන් ඔබ පජානාති වෙනව කියන එකේ සැබෑ අර්ථය දන්න නිසා මෙතනදීත් ඔබට පජානාති වෙන්න නම් මේ කාරණා පිළිබඳව ගැඹුරින් විමර්ශනය කිරීම අත්‍යවශ්‍ය වෙනවා. මෙතනදි කුසලය කියල කිව්වෙ දස අකුසලයෙන්ම වළකින එකට තමයි. හැබැයි සම්පූර්ණයෙන්ම වැළකිලා ඉන්නෙ රහතන් වහන්සේ නමක්ම විතරයි.

**ශ්‍රාවක** : රහතන් වහන්සේලා විතරක් කරන දෙයක්මම කරන්නෙ කොහොමද?

**දේශක** : ඉතාමත්ම වැදගත් ප්‍රශ්නයක් තමයි ඔබ ඇහුවෙ. ඇත්තටම ඔබට කරන්න තියෙන්නෙ හැකි පමණින් දස අකුසල් සිද්ධ කරන්න පුළුවන් වෙන තත්ත්වයකට ඔබව පත් කරගන්නෙ නැතිව ඉන්න එක විතරයි. දස අකුසලයම වෙන්න පුළුවන් ක්‍රමවේදය සම්බන්ධයෙන් ඔබ දැන් පජානාති වෙලා ඉන්න නිසා, ලෝකයෙන් තුන් ආකාරයකට ලැබෙන අරමුණු විඳගන්න ගිහින් කරගන්න විනාසය දන්නවා. ඒ කියන්නෙ ආදීනවය දන්නවා. ඒ නිසා දැන් ඔබ සිහියෙන් ඉඳල සුව විඳීමක් හෝ දුක් විඳීමක් හෝ උපේක්ෂා විඳීමක් හෝ දැනුන අවස්ථාවලදි විජානාති නොවී, ඒ කියන්නෙ විඤ්ඤාණ මායාවට හසු නොවී ආදීනව මෙනෙහි කරල ඒ ඒ අවස්ථාවට අනුකූලව ඇලීමෙන් හෝ ගැටීමෙන් මිදෙන්න කටයුතු කරන එක තමයි කරන්න තියෙන්නෙ.

**ශ්‍රාවක** : ඔය කියන්නෙ ඉන්ද්‍රිය භාවනාව කරල ඇලීමෙන් හෝ ගැටීමෙන් හෝ මිදෙන්න උත්සාහ වීර්ය කරන්න අවශ්‍යයි කියන එකම නේද ? (ඉන්ද්‍රිය භාවනා සූත්‍රය, මජ්ජිම නිකාය - 3, 617 පිටුව)

**දේශක** : හරියටම හරි. ඔබ යම් විඳ ගැනීමක් හඳුනගෙන ඉන්ද්‍රිය භාවනාව කරනව නම්, ඒ ඔබ කුසලය සහ කුසල මූලය ගැන පජානාති විදිහට ගන්න නිසාම තමයි. විජානාති විදිහට ලෝකය ගැන දැනගන්න ගිහින් ඔබම ගොඩ නගා ගත්ත ලෝභ, ද්වේශ, මෝහ ගති පිළිබඳව සිහියෙන් ඉඳල පජානාති වෙලා ඒ ගති නැවත හදන්නෙ නැතිව ඉන්න ගන්න උත්සාහයක් තමයි මේ. ඒකෙ ප්‍රතිඵලය තමයි විජානාති වීමෙන් උදා කරගත්ත ලෝභ, ද්වේශ, මෝහ ගති පජානාති වීමෙන් නිරුද්ධ කර ගැනීම.

**ශ්‍රාවක** : ඒ කියන්නෙ, මම යම් වෙලාවක සිහියෙන් ඉඳල ලෝකයෙන් එන අරමුණු හඳුනගෙන විඳින්න යන්නෙ නැතිව, ආදීනව මෙනෙහි කරල ඉන්ද්‍රිය භාවනාව කරනව නම්, ඒ කුසලය සහ කුසල මූලය පිළිබඳව පජානාති විදිහට දැනගෙන ඉන්න නිසාම නේද ?

**දේශක** : ඔව්. හැබැයි ඔබ කුසලය සහ කුසල මූලය පමණක් නෙවෙයි, අකුසලය සහ අකුසල මූලය පිළිබඳවත් පජානාති වීමේ සම්පූර්ණ ප්‍රතිඵලය තමයි ඒ.

**ශ්‍රාවක** : එහෙම නම් ඉතින් ඒක සම්මා දිට්ඨියට පත් වීමේ ප්‍රතිඵලයක් කියලත් කියන්න පුළුවන් නේද ?

**දේශක :** ඔව්. හැබැයි මෙතනදි වෙන්න ඕන, කවුරුහරි කියන දෙයක් අහගෙන ඉඳල ඉන්ද්‍රිය භාවනාව කරන්න පටන් ගන්න එක නම් නෙවෙයි. කුසලය සහ අකුසලයත් එහි මූලයන් පිළිබඳවත් බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙන ධර්මය ශ්‍රවණය කරල දැනගෙන දැකල ලබා ගන්න නිගමනයකට අනුව, තමන්ම තමන්වම බේරා ගැනීම සඳහා ඉන්ද්‍රිය භාවනාව කරන්න පටන් ගන්න එක. අන්න ඒ වගේ අයට තමයි ආර්ය ශ්‍රාවකයො කියල කියන්නෙ.

**ශ්‍රාවක :** සම්මා දිට්ඨි සූත්‍රයේ සඳහන් වෙලා තියෙන ආකාරයට ''අකුසලංච පජානාති අකුසල මූලංච පජානාති කුසලංච පජානාති කුසල මූලංච පජානාති'' ක්‍රමවේදය තුලින් සම්මා දිට්ඨියට පත් වෙන්න පුළුවන් ආකාරයට විස්තර සහිතව දැනගත්තා. හැබැයි මේ ක්‍රමවේදයෙන් කාට හරි සම්මා දිට්ඨියට පත්වෙන්න අවශ්‍ය නම්, අනිවාර්යෙන්ම සත්පුරුෂ සංසේවනයකින් මේ ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කළ යුතුමයි. ඒ නිසා හැකි ඉක්මනින් අපි සංවිධානය කරන ධර්ම සාකච්ඡාවලට සම්බන්ධ වෙලා මේ සත්‍ය ධර්මය තම තමන් විසින්ම ශ්‍රවණය කරල දැනගෙන දැකගන්න හැකි උපරිම අයුරින් උත්සාහ කරන්න, වීර්ය කරන්න, අධිෂ්ඨාන කරගන්න.

*සටහන:*
**විද්‍යාවේදී ඒ. එම්. ධනරත්න අල්විස්**
**පැපිලියාන**
**071 2736623**

# සමාධිමය අත් බෙහෙත්...

චරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් සසර පාරමිතාවක් පරිදි, ලෝ සතුන් කෙරෙහි අනුකම්පාවෙන්, විවිධ ලෙඩ රෝග සඳහා සමාධියෙන් මතු කරගත් ප්‍රත්‍යක්ෂ අත් බෙහෙත් කිහිපයක් පින්වත් ඔබගේ ප්‍රයෝජනය පිණිස මේ විදිහට සටහන් කරනවා. මීට පෙරත් සඳහන් කළා වගේ මේ සියළු බේත් ඒ ඒ පුද්ගලයන්ගේ කර්ම ශක්තීන්ට යටත්ව ප්‍රත්‍ය වෙන බව සළකන්න.







### 1. දත් කැක්කුමට සහ මුඛයේ හටගත් පණු ගෙඩි සුවයට

සිහින්ව කුඩු කරගත් පෙරුංකායම් කුඩු ටිකක් කඩදාසියක ඔතල උණු අළු පල්ලෙ විනාඩි 5 ක් පමණ තැම්බෙන්න තියල, කඩදාසි කැබැල්ල ඉවත් කරල පෙරුංකායම් කුඩු ටික ලිපේ අළු ස්වල්පයක් සමග රෙදි කැබැල්ලක පොට්ටනිය බැඳල දත මුල හෝ පණු ගෙඩිය මුල විනාඩි 20 ක් පමණ තියන්න. අවශ්‍ය නම් මේ විදිහට වරු 2 - 3 ක් කරන්න.

### 2. තරබාරු බව සමනයට

උදෑසන එකතු කරගත් පිනි දිය, පුළුන් දමූ පුනීලයකින් හෝ පෙරහනකින් හෝ පෙරාගෙන උදේ, දවල්, රාත්‍රී ආහාරයට විනාඩි 10 කට පෙර මේස හැඳි 2 1/2 බැගින් මාස 6 ක් බොන්න. මාස 6 කින් පසු වසර 2 ක් යනකල් සතියකට දෙවතාවක් උදේ හිස් බඩට මේස හැඳි 2 ක් ගන්න. මස් ආහාරයට ගැනීමෙන් වළකින්න. (පිනි දිය එකතු කරගන්නා ආකාරය - පිඟානක් වැනි භාජනයක් අරගෙන උදෑසනම තණකොළ, පඳුරු... ආදියට තට්ටු කිරීමෙන් ඒ භාජනයටම පිනි දිය එකතු කරගන්න පුළුවන්.)

### 3. තුවාල සමනයට

ඕනෑම ලොකු තුවාලයක් ඉතා ඉක්මණින් සුව වෙන ආලේපයක් තමයි මේ. මේ සඳහා අමුද්‍රව්‍ය විදිහට අවශ්‍ය වෙන්නෙ පනම් පෙති, අමු ඉඟුරු, ඉරිවේරිය, අමු කෝමාරිකා සහ වියළි මිදි ග්‍රෑම් 500 බැගින්.

මේ අමුද්‍රව්‍ය ටික අරගෙන වතුර බෝතල් 4 ක් දමා 1 කට හිඳගෙන, එහෙම නැත්නම් කොටා මිරිකගෙන ඉස්ම අරගෙන ඒ මිශ්‍රණයට එඬරු තෙල්, එළඟි තෙල්, මී තෙල්, තල තෙල්, කොහොඹ තෙල් අවුන්ස 3 බැගින් සහ මී ඉටි ග්‍රෑම් 500 ක් දමා ලිපේ තියල චූර්ණ ආලේප පදමට එනකොට බාගන්න. ඒ චූර්ණය රෙදි කැබැල්ලක ආලේප කරල තුවාලවලට තියල ප්ලාස්ටරයක් දමා වහන්න.

### 4. ශරීරගත විස ඉවත් කිරීමේ අරිෂ්ටය (I)

අමු පොල්පිති කලං 12 ක් අරගෙන වතුර පත අටක් දමා 1 කට හිඳ ගන්න. ඒකට තල් සූකිරි පත 1/2 ක්, සහිඳ ලුණු කලං 1/2 ක් එකතු කරල ඉතා මඳ ගින්නේ තියල පැණි පදම එනකොට විස මරාගත් පෙරුංකායම් කලං 6 ක් දමා මිශ්‍ර කරල බාගන්න. නිවුනට පසු මී පැණි පත 1/2 ක් එකතු කරල මිශ්‍ර කරගන්න.

මේ අරිෂ්ටයෙන් විස අධික රෝගියෙකුට නම් කෑමට පසු දිනකට 3 වතාවක් තේ හැන්ද බැගින් දෙන්න. මඳ විස ඇති කෙනෙකුට නම් කෑමට පසු දවල්, රාත්‍රී දෙවතාවක් තේ හැන්ද බැගින් දෙන්න. මේ අරිෂ්ටයෙන් ඇට මිදුළු යට තියෙන විස පවා ඉතා ක්ෂණිකව නැසෙන්න හේතු වෙනවා.

### 5. ශරීරගත විස ඉවත් කිරීමේ අරිෂ්ටය (II)

කිතුල් පිති බොඩ, නෙල්ලි, සූදුරු, කෝමාරිකා, නා මුල්, වැල්මී, තිප්පිලි කලං 6 බැගින් අරගෙන වතුර පත 24 ක් දමා පත 3 ට හිඳගෙන කිතුල් පැණි පත 3 ක් මිශ්‍ර කරල පැණි පදමට උණු කරගන්න. රෝගියාට මේ පැණියෙන් පතක් අරගෙන තේ හැඳි 1 බැගින් උදේ, හවස පානයට දෙන්න.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 72 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

## ශ්‍රම දායකත්වය

■ ධම්මික සේනාධීර මහතා - හසරු ප්‍රින්ටර්ස් - මාලබේ ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ සඳරුවන් පෙරේරා මහතා - මොරටුව ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ ඒ. එම්. ධනරත්න අල්විස් මහතා - පැපිලියාන ■ එස්. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ■ නිවන්ති වීරතුංග මහත්මිය - මාතලේ ■ ස්වර්ණා සමරසිංහ මහත්මිය - නැදිමාල ■ රත්න පෙරේරා මහතා - කැස්බෑව ■ චමත් ලියනගේ මහතා - බෝමිරිය ■ ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දායක වූ පින්වතුන්

## මූල්‍යමය දායකත්වය

■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ දියණියන් - නුගේගොඩ - රු. 10,000/- ■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව - ගල්කිස්ස - රු. 10,000/- ■ කරුණා ගුණවර්ධන මහත්මිය ඇතුළු පිරිස - කුරුණෑගල - රු. 10,000/- ■ වෛද්‍ය තාරක රත්නායක මහතා සහ ලසන්ති රත්නායක මහත්මිය - නුගේගොඩ රු. 6,000/- ■ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා, කෙනුලි ලොකුමාන්න දුව - ගල්කිස්ස - රු. 5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ■ අමිල සල්ගාදු මහතා, ජයන්ත සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 5,000/- ■ මෙරිල් ඩයස් මහතා, ඩිලානි ඩයස් මහත්මිය, ශවින්ද්‍රි ඩයස් සහ ප්‍රශානි ඩයස් යන දියණියන් - නාවින්න - රු. 5,000/- ■ ළහිරු පුන්සර සඳරුවන් ලොකුබාලසූරිය පුතා - රාජගිරිය - රු. 5,000/- ■ එම්. එස්. කළුබෝවිල මහතා - මාලබේ - රු. 4,600/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ. එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ සුජාන් කරස්නාගොඩ මහතා සහ නිලූෂි දිසානායක මහත්මිය - ඕස්ට්‍රේලියාව - රු. 3,000/- ■ දේශිකා වික්‍රමසිංහ මෙනවිය ඇතුළු පවුලේ සැම - කොළඹ - රු. 3,000/- ■ ජේ. කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා ඇතුළු පිරිස - එල්ලක්කල - රු. 2,710/- ■ ටී. ටී. පී. සිල්වා මහත්මිය - නාගොඩ කළුතර - රු. 2,500/- ■ ඩී. ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,500/- ■ ඩිනූදි ආදිත්‍යා පෙරේරා දියණිය - රණාල - රු. 2,500/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 2,000/- ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනට සහභාගී වන පින්වතුන් - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදාවාන - රු. 2,000/- ■ ඩබ්. උපුල් පරාක්‍රම ද සිල්වා මහතා - මාරවිල - රු. 2,000/- ■ ලලිත් වසන්ත මහතා ඇතුළු පිරිස - ටොරින්ටන් - රු. 2,000/- ■ විපුල සංජීව මහතා ඇතුළු පවුලේ සැම - හෝමාගම - රු. 2,000/- ■ ස්වර්ණා විතාන මහත්මිය - මහරගම - රු. 2,000/- ■ කේ. ඒ. කුෂාන්ත මහතා ඇතුළු පවුලේ සැම - මාලබේ - රු. 2,000/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ අනුරුද්ධ ශ්‍රීමාල් මහතා - රු. 1,500/- ■ තිලානි ද සිල්වා මහත්මිය - රු. 1,500/- ■ ඊ. ඒ. එරන්දතී සඳසීලි මහත්මිය - නිට්ටඹුව - රු. 1,500/- ■ කේ. එම්. කේ. චන්ද්‍රිකා ප්‍රියානි පෙරේරා මහත්මිය සහ කේ. එම්. කේ. උදිත ලක්ෂාන් පෙරේරා මහතා - මිනුවන්ගොඩ - රු. 1,200/- ■ කුමාරි විජේකෝන් මහත්මිය - මිනුවන්ගොඩ - රු. 1,200/- ■ පී. ඒ. සුමනා පෙරේරා මහත්මිය - දෙහිඕවිට - රු. 1,050/- ■ පූජ්‍ය උඩුගම්පොල විජයනන්ද හිමි - රු. 1,000/- ■ කේ. රත්නා චාන්දනී මහත්මිය ඇතුළු පවුලේ සැම - ඉතාලිය - රු. 1,000/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ■ ජයනාත් සුබසිංහ මහතා - හෝමාගම - රු. 1,000/- ■ චතුරිකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 1,000/- ■ රේණුකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 1,000/- ■ ක්‍රිෂාන්ත ප්‍රියමධු මහතා - කළුබෝවිල - රු. 1,000/- ■ ගාමිණී ලියනගේ මහතා සහ නයෝමි තරංගා ලියනගේ මෙනවිය - නැදිමාල - රු. 1,000/- ■ සාරංග දර්ශන මහතා සහ සුරේඛා නිල්මිණි මහත්මිය - වැල්ලම්පිටිය - රු. 1,000/- ■ සී. එම්. පී. සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ සිරිමල් වේරගම මහතා - යොවුන්ගම - රු. 1,000/- ■ ඒ. විල්සන් පෙරේරා සහ එම්. කල්‍යාණි පෙරේරා යන දෙපළට පිං පිණිස ජයරාණි නිරංජලා අමරතුංග මහත්මිය - තලපත්පිටිය - රු. 1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ■ සමන්ති රාජපක්ෂ මහත්මිය - පන්නිපිටිය - රු. 1,000/- ■ ඒ. ඒ. එන්. අමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම - අවුලේගම - රු. 1,000/- ■ එල්. ඒ. කේ. ද සිල්වා මහතා - කිරුලපන - රු. 1,000/- ■ නිලූකා වෙල්ගම මහත්මිය ඇතුළු පවුලේ සැම - කඳාන - රු. 1,000/- ■ එල්. එම්. සුනිල් මහතා - දෙවිනුවර - රු. 1,000/- ■ ඒ. ධර්මපාල මහතා - එල්ලක්කල - රු. 1,000/- ■ වින්ධ්‍යා නිර්මාණී දුව - රදාවාන - රු. 1,000/- ■ එම්. පී. ෂේන් වාල්‍යා පතිරණ මහත්මිය - බොරලැස්ගමුව - රු. 1,000/- ■ රාහුල ඉන්ද්‍රකුමාර මහතා - මිනුවන්ගොඩ - රු. 1,000/- ■ කුසුම් වික්‍රමසිංහ මහත්මිය සහ ලයනල් සිරිමාන්න මහතා - රදාවාන - රු. 1,000/- ■ යසිත් මධුසංඛ පුතා - අග්ගොන - රු. 1,000/- ■ සමන් දසනායක මහතා, සුජාතා මහත්මිය, අස්වින් දුව - පිළියන්දල - රු. 1,000/- ■ කේ. ඒ. උපාලි ජිනදාස මහතා - දිවුරුම්පිටිය - රු. 1,000/- ■ දමයන්ති ලියනගේ මහත්මිය - කිඹුලාපිටිය - රු. 1,000/- ■ ඩබ්. සුරාජ් ටෝනි මහතා ඇතුළු පවුලේ සැම - මැල්ලව - රු. 1,000/- ■ කුමුදුනී කහඳුව මහත්මිය සහ දයා කරව්දෙණිය මහතා - තලපත්පිටිය - රු. 1,000/- ■ නිමාලිකා සඳරුවනි දුව - දෙල්කඳ - රු. 1,000/- ■ කේ. එස්. ඒකනායක මහතා - කඩවත - රු. 1,000/- ■ මැණික් කුරුප්පු මහතා සහ චන්දන ජයසිංහ මහතා - හේමාස් ආයතනය - රු. 1,000/- ■ තිස්ස බී. අතාවුද මහතා ඇතුළු පවුලේ සැම - ජා ඇල, එම්. ඩී. තිලකරත්න මහතා ඇතුළු පවුලේ සැම - වැලිපැන්න, රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය, පද්මා කුමාරි අබේකෝන් මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, රසික තුෂාන්ත මහතා - හෝමාගම, අයි. ජේ. ආර්. අත්තනායක මහත්මිය - බොරලැස්ගමුව, එම්. එස්. ගුණවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - කොළඹ, රෝහිත අබේසිංහ මහතා - හෝමාගම, කරුණා මහවත්ත මහත්මිය - බෝපේ, රසිකා මනෝහාරි මහත්මිය සහ පුෂ්ප මහතා - මහරගම, හේෂාන් මාමුහේවා මහතා - පිටකෝට්ටේ, ඩබ්. ඩබ්. පොඩිහාමිනේ මහත්මිය -

එකතුව - රු. 6,500/- එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 197,760/- ■ පළමු පිටපත් 15,000 සඳහා මුද්‍රණ වියදම රු. 367,000/- ■ අනෙකුත් වියදම් - 13,915/- ■ සම්පූර්ණ වියදම - රු. 380,915/- ■ එක් පිටපතක නිෂ්පාදන වියදම - රු. 25.39/- මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝසවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතුකොටගෙන සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්‍ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

# සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net | mp3.hiddendhamma.net | www.helabodhupiyuma.net | www.aaryadharma.org | www.waharaka.com

විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අ:- 071 3046895 / 036-2267111 / 072 7076688

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සැම පුන් පොහෝ දිනකම සහ සැම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සැම මසකම 1 වන සහ 3 වන සෙනසුරාදා ආශිර්වාද පූජාව සහ ධර්ම සාකච්ඡාව. 2 වන සහ 4 වන සෙනසුරාදා භාවනා වැඩසටහන්

**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.**

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

(1) චන්දුල වෙළඳ විමන, අංක 104, හයිලෙවල් පාර, මහරගම 077 7258851 (2) හසරු ප්‍රින්ටර්ස් - මාලබේ. (071 4220558 /011 2744308) (3) නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 077 3742023 (4) පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම- 011 2895132 (5) අමර බුක් ෂොප් ඇන්ඩ් කොමියුනිකේෂන් - අංක 113/11 ඒ, බණ්ඩාරනායක මාවත, රත්නපුර - 071 2404242, 072 2404242 (6) පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038 2235369 (7) ස ර ස වි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 077 3474081 (8) හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041 3021878 (9) පත්මසිරි ස්ටෝර්ස් - මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 071 8149714 (10) යාපා ටෙක්ස් (සීබ්‍රා ඇපරල්ස්) - 150, නව ආර්ථික මධ්‍යස්ථානය, කෑගල්ල. - 071 4569500, 035 3222220 (11) සොබා දහම් ගොවිපොළ, සණස, උකුවෙල, මාතලේ 071 8261500 / 066 2245353 (12) දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 071 8059784, 077 2055098 (13) තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 011 2857572 (14) තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 076 6114237 (15) ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල - 091 2242610 (16) නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර - 041 2225118 (17) සහන ෆාමසි - මුණගම, හොරණ - 071 2608776 (18) මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල - 071 1662643 (19) දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 071 9856555 (20) ඒකනායක මන්තින්දාරාමය - ඉහළගම, මහඋඩගම, ගම්පොළ, නුවර - 077 - 541 64 61 / 081 - 020 57572 (21) අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්‍ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 076 6442125 (22) රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 031 2277726 (23) දම්රූස් ටෙක්ස් - 10 බී, ගාලු පාර ගල්කිස්ස - 011 2721037 (24) චන්දන පූජා භාණ්ඩ - 100, බදුල්ල පාර, හාලිඇල - 055 2294999 (25) කුමාර අයන් වර්ක්ස් - 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 076 9604682, 071 3329621 (26) රුචිර ද සිල්වා මහතා - අංක 09, ග්‍රෑන්ඩ් හොටෙල් පාර, නුවරඑළිය - 077 2717514 (27) ගමගේ පොත්හල, අංක 119 ඒ/1, මිද්දෙණිය පාර, අඟුණුකොළපැලැස්ස - 071 4492649 (28) නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනින් (බදාදා පෙ. ව. 9.00 සිට 3.00 දක්වා පමණි.) 077 2292677 (29) රාජපක්‍ෂ වෙළඳසැල - බැද්දෙගෙදර, මිද්දෙණිය පාර, වීරකැටිය - 07 12136329 (30) සංජීව සුපර් ග්‍රොසරි - ප්‍රධාන වීදිය, බඩල්කුඹුර 075 5863883, 055 2250051 (31) සෙල්මින් ලේබල් (පුද්.) සමාගම - 313/29 බී, ගෝනමඩිත්ත පාර, පිලියන්දල - 077 3018686 / 011 2616349 (32) සෙනාරෝ සෙන්ටර් - අංක 35, රාජගිරිය පාර, රාජගිරිය - 075 5569555 (33) Mr. Coffee, කෙලින් වීදිය, දේවාලෙගම (පොල්ගහවෙල පාර) - 071 4569500 / 035 3222220 (34) අමිල ට්‍රේඩර්ස්, අංක ඩී1, ඒ. ඒ. ධර්මසේන මාවත, මහනුවර - 075 7246797 (35) උපාලි පූජා භාණ්ඩ මන්දිරය - හොරණ 077 7722531 (36) ශෛල පබ්බතාරාමය, ගිජිදාගම, පොල්ගහවෙල 071 212 5880 (37) සිරිමල් වේරගම මහතා, අංක 44, යොවුන්ගම, මීගොඩ - 072 5728829 (38) ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගෙ ාඩ පාර, පිටකෝට්ටේ - 077 7794676 (39) සමනල පොත්හළ - නෙළුව - 071 2837757 (40) ශ්‍රී ලංකා වරාය අධිකාරිය, බොදු මග ක්‍රියාශීලී සංසදය, ජයබහලු පර්යන්තය - 071 8069302, 077 3685043

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

**ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.**



# ලොව කොහෙද සුබ තැනක්?

මේ මනු ලොව ඉපිද දුලබව ලද සැණෙක
තේරුම් ගත යුතුයි රැඳවෙන්නට මතක
බේරන්නට කෙනෙක් නැති අසරණ තැනක
ඊළඟ අත් බවය ලද හැකි වෙයි දුකෙක

රැක සිල් තපෝ ගුණ පිරි බඹ ලොව ගියද
සැක නැති ආයු කල කොතරම් දිගු වුනිද
සික පද රැකී මග ඵල වත් නොලැබුනිද
අකමැති වුවත් පහ වෙයි වෙන අතකටද

පිවිසුම සැපයි දිගු කල් ලද දෙය එමටයි
සුවිසල විමන් නැති අය පෙළෙනුයෙ දුකටයි
මවිතව අසරණව ඒ චුත වෙන කලටයි
දෙව් ලොවටත් අනේ තුන් සරණෙම පිහිටයි

මිනිසුන් හට නොතේරෙන කී ලෙසට මනා
හරසුන් වැඩම කරමින් සැප ලබන මෙනා
පුරවන්නට අඩුව දුව පැන දඟල ගෙනා
සැනසෙන්නට මගක් නැත මුනි දහම විනා

බියකින් පෙළී මරණය කුස ගිනි දරුම
තිරිසන් සතුන් හට උරුමයි දුක විඳුම
විඳවන්නට තැනකි අකුසල ඵල ලැබුම
උනුනුන් හට ගොදුර අසරණ වන තරම

මුළුතැන් ගෙට වැදී අහු මුලු බැදුම දැකා
නොපෙනෙන්නට හිඳී කෙළ සොටු සෙමද කකා
දරුවන් හට බැඳී වෙයි කරදරද නෙකා
ඇදුරන් දමති බෝතලයක පේත යකා

ගොර කටු ඉඹුල යම පල්ලන් දැකීමට
කර නොහොබිනා වැඩ දස අකුසලේ සිට
ජර මර ගොඩයි දුක විඳ විඳ අනේ හෙට
නිරයත් එපා වෙයි අකුසල විපාකෙට

දින දින ගෙවෙන පුස්සකි මරු තුරුල වෙත
හොඳ තැනකැයි ඉපිද ලද සැපතකුදු නැත
රැවටුන හැටි ඇතියි කුසලයෙ රැඳුන සිත
මතු දිනයක තබයි යළි ඉපදුමට තිත

පබැඳුම - නැදිමාලේ ස්වර්ණා සමරසිංහ

# සසුනට මුවා වී...

වැඩ උන් රටේ බුදු හිමි සඟ අසම සම
දහමින් දිලුනි එදවස පින් බිමකි අම
නිලයන් දරා අද රකිනට හදන මම
නිවනින් තොරව රකිනා බුදු සසුන කිම

බලතල හදාගෙන රකිනට යැයි කියමින්
එල ඇති තැනට නීතිය එයි වැට බඳිමින්
නිලයට මුවා වී මතු වෙන දම වහමින්
බල බල හිඳියි ලොබ කිත් පැසසුම් ලබමින්

කුටියක් හදාගෙන බණ දම් රකිනු බැරී
දහසක් නීති අවසර ගත යුතුය මැරී
සහසක් තතු අසයි නිල බලවලට හැරී
නිවනක් ලබන්නට නිදහස නොමැත ඇරී

බණ භාවනාවට කටයුතු කෙරෙන විට
අණ එයි උඩින් අවසර නැත දහමකට
ගෙන යයි මුසා සමහරු බුදු සසුනෙ සිට
පණ යන තුරු පමණි මේ දුගතියකි හෙට

සසුනට මුවා වී අකුසල් කරන රටේ
දහමට වැට ගසා ලොව වැජඹුමට ගැටේ
මුදලට වාසියට කහ චීවරය නැටේ
නිවනට තැනක් නැත පැවතුම එකට වැටේ

බල මුළු මැති ඇමති ලේකම්වරුද වෙතී
නිලතල හදාගෙන සසුනට උරුම නැතී
පිළකට බෙදී තුම් බුදු මග වහන පැතී
මළ විට කුමට දුගතිය නම් මෙහෙම ගතී

සසුනට මුවා වී නැග එන දහම වසා
විසුමට හදති සමහරු ගෙන බොදුනු වෙසා
පසුවට ලැබෙන එල ගැන නොහඳුනන නිසා
නැසුමට වෙනව මළ විට විත් ගතියෙ දොසා

නැග එන දහම දැක සමහරු බියෙන් පෙළී
දඟ වැඩ කරති සසුනෙහි නාමයෙන් වෙළී
මග අවුරන විටදී නිලතලවලින් ඇලී
රඟ දෙති සසර දුගතියෙ මළ සැනින් ගිලී

යහපතට තියෙන ඉඩ අවුරන කල දී
දහම එරෙහි වෙයි රටටම පව් එල දී
සහන නොමැත සත හට එම යුගවල දී
පහන බුදු මගයි මුත් නිවනක් නොල දී

සැරියුත් මහා මුගලන් පරපුරින් එන
අරිහත් මලියදෙව් සඟ දස දහස් වින
අදටත් දුලභ යතිවර ගණ උපත් දන
එහෙමත් රටේ මේ නම් සාපයක් හෙණ

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන



1072 Rs.25.00
Hela Bodhu Piyuma 72

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් සංස්කරණය කර නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කරවා ප්‍රසිද්ධ කරන ලදී.